මේෂාන්තරක්‍රියාපෙක්ෂා, එළුවන් දෙදෙනාගේ අන්‍යොන්‍ය ක්‍රියා බලා පැවති; අවධිකං, සීමාභාවය; පාඨික්පාඨික්, උනුන්කෙරෙන් වෙයි; මෙෂයොඃ, එළු දෙදෙනාගේ; කත්තෘත්වඩ, කත්තෘබවද; පාඨික්පාඨික්, වෙන්වෙන්ව; ස්වක්‍රියාපෙක්ෂං, තමතමාගේ ක්‍රියාසම්බන්ධයෙන් වැටෙයි——ධාවතොඃශ්වාත් පුරුෂඃ පතති, කුම්භාත් පතතොඃශ්වාත් පුරුෂඃ පතති, චලාපාදනයි——වෘක්ෂාත් පත්‍රං පතති, කූපාදුදකං උද්ධෙන යනාදිය-සචලාපාදනයි-මෙහි "පරස්පරස්මාත් අපසරතඃ" මෙහි ලා අපසරණ ක්‍රියාසම්බන්ධයෙන් උක්තාහෙයින් මෙහෙ කියා පුළුම්වාවෙයි; පෙරලා ඉවත්ව යනහෙයින් "පරස්පරස්මාත්" යි අපාදානයද විශ්ලෙෂාශ්‍රයෙන්මැයි.

නිර්දිෂ්ටවිෂයං, වාක්‍යයෙන් දක්වනලද පතනාදි ශ්‍රවණෙන්ද්‍රිය ගොචරශබ්දවත්වූද; කිංචිත් උපාත්තවිෂයං, කිසිවක් අධ්‍යාහාරයෙන් ගතහා ගෝචර ඇත්තාවූද; තථා, එසේම; අපෙක්ෂිතක්‍රියම්වෘත්ති, බලනලද ක්‍රියාඇත්තාවූදැයි; අපාදානං, අපාදාන කාරකය: ත්‍රිධා, තුන් පරිච්ඡේදකින්; ඉෂ්‍යතෙ, වෛයාකරණයන් විසින් අභිප්‍රෙතයි—නිර්දිෂ්ටො විෂයොයස්මින්යිද, උපාත්තො විෂයොයස්මින්යිද, අපෙක්ෂිතා ක්‍රියා යෙන යස්මින්වායිද, බහුව්‍රීහිවාක්‍යයි——වෘක්ෂාත් පර්ණං පතති, වෘක්ෂාත් පර්ණං භූමිං පතතිවා—වලාහකාත් විද්‍යොතතෙ විද්‍යුත් යනෙනාති අපක්‍රම්‍ය නිඃසෘත්‍ය ආදී කිසිවක් අධ්‍යාහාර්‍යයි-කුතොනු භවං වච්ඡායනො දිවාදිවසස-ඉතො හො සමනස්ස ගොතමස්ස ඝනතිකා යනාදි ප්‍රශ්නානන්තර දෙක්හිම ක්‍රියාපෙක්ෂායි.

2. ධාතුනාමානම් පසග්ග යොගාදීස්වපිච, යනු සංඥසූත්‍රයි—ධාතුනාමානංය, උපසග්ගයොගාදීසුය, අපිය, චඃ, යනු පදයි—මෙහි කිසි ධාතු කෙනෙකුන්ගේ වේවයි, නාමයක්නුගේ වේවයි, උපසර්ගාදීන්හා සම්බන්ධ ඇතිකල අපාදානවෙයි යනුභාවයි—ආදී ශබ්දයෙන් නිපාත හැහෙයි, අපි යනුද, ච යනුද, අන්‍ය ව්‍යාකරණෝක්ත කිසිවක් සමුච්චය කෙරේ.

ධාතු නාම උපසර්ග නිපාත නොවන කිසිවක් නැතිබැ
වින් මෙහි සංක්ෂෙපයි, පාණිනීයාදී අන්‍යව්‍යාකරණ මා
ර්ගයෙහි දර්ශිතක්‍රම ගතයුතුයි—ඊහතෙ, ත්‍රාපාලනෙ, ආ
දීය ධාතුයි—අන්‍ය ප්‍රභෘති ආදිය නාමයි—පරි-ප්‍රති-අප-
අධි-අනු උපසර්ගයි-ආදි ශබ්දයෙන් ආරාත්-ඍතෙ ආදි
යද, අපි ශනෙනාන් ප්‍රභෘති යනාදීයද ගනෙත්ය.

ච ශබ්දයෙන් ආරභ්‍ය යනාදිය ගතයුතුයි-චෞරාත් ත්‍රා
යතෙ, කාෂ්ණාදනාඃ, පරිත්‍රිනගෙතීගෙත චෘෂෙටාදෙවිඃ
තිලෙභ්‍යඃ ප්‍රතියච්ඡති මාෂාන්, වනාදූරාත්, නගෙත්‍රා ගෙද
හඃ කම්පාදසති—මෙහි දක්වූයේ උදාහරණ දිග්මාත්‍රයි.

3. රක්ඛණත්ථානමිච්ඡිතං, යනු සංඥාසූත්‍රයි-රක්ඛණ
ත්ථානංය, ඉච්ඡිතංය, යනුපදයි—රක්ෂණාර්ථ ධාතු යොග
යෙහි ඊප්සිතය අපාදාන සංඥාවෙයි.

ඊප්සිතව රක්ෂාර්ථානාං, යන කාතන්ත්‍රසූත්‍රයට වත
ක්ඛ්‍යාන කරනොත!—රක්ෂාර්ථානාං ධාතූනාං ප්‍රයොගෙ
යදීප්සිතමනීප්සිතංච තත් කාරකමපාදානසංඥං භවතියි
ලියා—යවෙභ්‍යෝගාං රක්ෂති, යවෙභ්‍යෝගාං නිෂෙධති,
ශාලිභ්‍යඃ ශුකාන් වාරයති——අග්නිභ්‍යඃආනමාණං රක්ෂ
ති, කූපාදන්ධං වාරයත්‍යපි, ඊප්සිතෙ කර්ම (අපාදාන)
සංඥං බාධතෙයි කීයති-අග්නිභ්‍යඃ, කූපාත්යි අනීප්සිතය
ද අපාදානබැව් මෙහි පෙණේ.

4. යෙනාදස්සනං, යනු සංඥාසූත්‍රයි, යෙනය, වාය,
දස්සනංය, යනු පදයි—යමෙකු විසින් නොදක්ම කැමති
වනලදනම් ඒ දක්නා තැනැත්තෙත් අපාදාන සංඥාවෙයි-
උපජ්ඣායා අන්තරධායති ආදිය පෙළකී පරිද්දෙන් දත
යුතු—අන්තර්ධෞ යෙනාදර්ශන මිච්ඡති; සැඟවීමෙහිදී ය
මෙකු විසින් නොදක්ම කැමැත්තෙත් නම් එය අපාදානයි,
මෙසේ අර්ථැති පාණිනීය සූත්‍රය සුගමයි—

5. දූරන්තිකද්ධකාලනිම්මාන ත්වාලොප දිසායොගවිභ
ත්තාරප්පයොග සුද්ධප්පමොචන හෙතු විවිත්තප්පමාන
පුබ්බයොග බන්ධන ගුණවචන පඤ්හකථන ථොකාක
ත්තුසුච—යනු සංඥාසූත්‍රයි—දූරන්තික—පෙ—කත්තුසුය
ච; යනු පදයි—දූරාර්ථ, අධ්වනිර්මාණ; එනම්, ක්‍රොශ
යොජනාදියයි; කාලනිර්මාණ, එනම්-කල්ප වර්ෂ ආදියයි;

ජ්ඣාලොප, එනම්-පූර්වක්‍රියා අධ්‍යාහාරකටයුතු තැනි-දිසායොගනම්-දිශාවාචක ශබ්දහා දිශා අර්ථශබ්ද සම්බන්ධතැනි; විභත්තනම්, විභාග හෝ වෙන්කිරීමයි; ආරප්‍රයොගනම්, තොරවීම් අර්ථඇති පදයන්ගේ යොගයි; එනම්-ආරති-වෙරමණී යනාදියයි, සුද්ධනම් කෙවල, නොකිලිටි ආදියයි, ලොභනීයෙහි ධම්මෙහි සුද්ධො යනාදිය උදාහරණයි; පමොචනනම්—මුත්තො මාරබන්ධනා යනාදි මිදීම් අර්ථයි; හෙත්වර්ථනම්-කස්මානු තුම්හං දහරා න මීයථ යනාදී යවර්ථනාම සම්බන්ධතැනි, විවිත්තනම් පෘථක්භාවයි, විවිච්චෙව කාමෙහි යනාදියයි—ප්‍රමාණාර්ථනම්-මිනීම් අර්ථයි-ආයාමතොච විත්ථාරතොච යනාදිය උදාහරණයි; පුබ්බයොගනම්, ඉතො පුබ්බෙ නාහොසි යනාදි පුබ්බශබ්දයොගයි; මෙහි ආදිශබ්දය හෙළා අර්ථගෙණ තතො උත්තරිම්පි යනාදියද මෙහි සංග්‍රහ කරණු-බන්ධනනම්, ඉණාදී හෙතුයි; සතස්මා බද්ධො යනාදියයි; ගුණවචන නම්, ගුණකීමයි; ඉස්සරියා ජනං රක්ඛති රාජා යනාදිය උදාහරණයි; මෙහි ප්‍රශ්න කථනදෙක නම්, විචාරීම් විසඳීම් දෙකයි; ස්තොකාර්ථනම්, මඳකින් යනාදී අද්‍රව්‍ය වචනයි; ථොකා මුච්චති යනාදිය උදාහරණයි, අකර්තෘනම්, කර්තෘ නොකියවෙන තැනි; එනම්, කම්මස්ස කතත්තා උපචිතත්තා යනාදියයි.

6. යස්සදාතු කාමො රොචතෙ ධාරයතෙ වා තං සම්පදානං, සත්‍යසංඥ සූත්‍රයි; යස්සය, දාතුකාමොය, රොචතෙය, ධාරයතෙය, වාය, තංය, සම්පදානංය, යනු පදයි— යමෙකුට දෙනුකැමැත්තේද රුස්සේද, නයඇත්තේද; එකාරකය සම්ප්‍රදානනම්වේ.

අනිරාකරණාත් කර්තුස්ත්‍යාගාඞ්ගකර්මණෙප්සිතම්
ප්‍රේරණානුමතිභ්‍යාංච ලභතෙ සම්ප්‍රදානතාම්.

ත්‍යාගාඞ්ගකර්මණ, පරිත්‍යාගාඞ්ගප්‍රාප්තක්‍රියායෙන්; ඊප්සිතම්, කැමතිවනලද්දක්; කර්තුඃ, කර්තෲනුගෙන්; අනිරාකරණාත්, ප්‍රතික්ෂෙපනොකිරීමෙන්ද; ප්‍රේරණානුමතිභ්‍යාංච, (බත් පිළි ආදී කිසිවක් දෙවයි කර්තෲනු) මෙහෙයීමෙන් හා (මැනවැයි) පිළිගැන්මෙන්ද; සම්ප්‍රදානතාම්, සම්ප්‍රදානබව; ලභතෙ, ලබයි.

දදාති දණ්ඩං පුරුෂොමහීපතෙඃ
නචාපි භක්ත්‍යා නච දානකාම්‍යයා
යද්දීයතෙ දානතයා සුපාත්‍රෙ
තත් සම්ප්‍රදානං කථිතං මුනීන්ද්‍රෛඃ. *

පුරුෂඃ, මනුෂ්‍යතෙමේ; මහීපතෙඃ, රජුට; දණ්ඩං දදාති, දඩදෙයි ගෙවයි; භක්ත්‍යාපිනච, භක්තියෙනුත් නොවෙයි; දානකාම්‍යයානච, දානාධ්‍යාසයෙනුත් නොවෙයි-එහෙයින් "මහීපතෙඃ"යි සම්බන්ධයෙහි ෂෂ්ඨීයි-එසේම "රජකස්‍ය වස්ත්‍රං දදාති" යනුදු ෂෂ්ඨීමැයි-දානතයා, දානභාවයෙන්; යත්, යමක්; සුපාත්‍රෙ, සුදුසුසන් විෂයෙහි; දීයතෙ, දෙනුලැබේනම්; තත්, ඒ; සම්ප්‍රදානම්, සම්‍යක් ප්‍රදානාර්ථයෙන් සම්ප්‍රදානනමැයි; මුනීන්ද්‍රෛඃ, මුනිශ්‍රෙෂ්ඨයන් විසින්; කථිතම්, කියනලදී-ගෞණත්වෙපි සම්ප්‍රදානං භවත්‍යෙව, ඛඩිතොපාධ්‍යායඃ ශිෂ්‍යාය චපෙටාං දදාති-ඛඩිතොපාධ්‍යායතෙමේ අතවැස්සාට අතුල්පහරදෙයි. මෙද ශිෂ්ටප්‍රයොගමැයි.

7 සිලාඝ හනු ඨා සප ධාර පිහ කුධ දුහිස්සාසූය රාධික්ඛ පච්චාසුණ අනුපතිගිණ පුබ්බකත්තාරොචනත්ථ තදත්ථ තුමත්ථාලමත්ථ මඤ්ඤතානාදරප්පාණිනි ගත්‍යත්ථකම්මනි සංසට්ඨ සම්මුති භිය්‍යසත්තම්‍යත්ථෙසුච, යනු සංඥාසූත්‍රයි-සිලාඝහනුඨා-පෙ-මඤ්ඤතානාදරප්පාණිනිය, ගත්‍යත්ථකම්මනිය, සංසට්ඨ සම්මුති භිය්‍යසත්තම්‍යත්ථෙසුය, ච, යනුපදයි~~~සිලාඝධාතු, ප්‍රශංසායෙහි-හනු-වැලහීමෙහි, ඨා, ගමන්වැළකුම්හි, සප, දිවිරීමෙහි, ධර, ඉසිලීමෙහි, මෙකී ධාතූන්ගේ සම්බන්ධයෙහිද; කුධ, කිපීමෙහි; දුහ, ද්‍රොහයෙහි, ඉස්ස, ඊර්ෂ්‍යායෙහි; උසූය, ගුණයෙහිදු දොෂාරොපයෙහි; යන ධාතූහා මෙකී අර්ථඇත්තන්ගේ යොගයෙහිද-රාධ, හිංසාය සිදුකිරීමය යන දෙඅර්ථයෙහි; ඉක්ඛ, දර්ශනයෙහි ලකුණුකිරීමෙහි යන රාධ ඉක්ඛ දෙදෙනාගේ යොගයෙහිද-පති පූර්වවූද ආඞ්පූර්වවූද, සු ශ්‍රවණයෙහි; අනු ආදිවූය පති ආදිවූය ගිසද්දෙ යන ධාතුය යන

* කවීන්ද්‍රෛඃ-සමහර.

ප්‍රයොග සතරෙහි පූර්වකර්තෘයෙහිය—ආරොචනාර්ථ, එනම් අතිකෙකුට කිමයි-තදර්ථනම්, යූපාය දාරු යනාදිය මෙන් එම පිණිස යනාර්ථයි-තුමර්ථනම්, තුං ප්‍රත්‍යයාන්තපදයෙන් කියවෙන අර්ථ සදෘශයි—අලමර්ථනම්, අලං යන නිපාතයෙහි සැහෙයි ප්‍රතික්ෂෙපකෙරෙයි යන අර්ථ දෙකයි—මඤ්ඤතානාදරප්පාණිනි යි යනු යවිකරණහා දක්වන බැවින් මනුබොධෙ යන දිවාදි ධාතුව ගතයුතුයි; හෙද-කර්මාර්ථය හෙලාදක්නාවූ අප්‍රාණි දෙයෙක්වී නම්, එහිද-ගමනාර්ථ ධාතුන්ගේ කර්මයෙහිද, සංසඨ, පැසසීමෙහිද-සම්මුතියොග ගීසොෂයොග දෙක්හිද, සත්‍යාම් අර්ථයෙහිද-ච ශබ්දයෙන් ප්‍රෙෂණ ආදියෙහිද සම්ප්‍රදානසඥාවෙයි සේයි.

8. යො'ධාරො තමොකාසං, යනු සංඥසූත්‍රයි—යොය ආධාරොය තංය ඔකාසංය යනු පදයි, යමෙක්තෙමේ පචනාදි ක්‍රියාවන්ට ආධාරනම් ක්‍රියා උපුලානම් ඒ ආධාර නම්.

කිරියා කත්තු කම්මිඨා ආධාරීයන්ති යෙන සො
ආධාරො චතුධා වුත්තො බ්‍යාපකාදිප්පභෙදතො.
බ්‍යාපකො තිල ඛීරාදි කටො ඔපසිලෙසිකො
සාමීපිකොතු ගඞ්ගාදි ආකාසො විසයො මතො.

සාරස්වතකාදදී කිසිවෙක් පවැදෑරුම්යයි කියති—ඖපශ්ලෙෂිකං සාමීප්‍යකං අභිව්‍යාපිකං වෛෂයිකං නෛමිත්තිකං ඖපචාරිකං කියායි-එහි උදාහරණ.

කටෙ ශෙතෙ කුමාරො'සෞ වටෙ ගාවඃ ශිසෙරතෙ
තිලෙෂු විද්‍යතෙ තෛලං හෘදි බ්‍රාහ්මාමෘතං පරම්.
යුධෙ සන්නාහ්‍යතෙ වීරො'ඞ්ගුල්‍යග්‍රෙ කරිණාං ශතම්.

මේ කුමර කලාලෙහි නිදයි, ගෙරි නුගරුක වෙත හෝ සිසාරා ඇවිදිති, තෛලය තලඇටෙහි ඇතෙත්යි, උතුම් බ්‍රහ්ම අමෘතය ලෙහි වෙයි, වීරතෙම යුධයෙහි සැරසෙයි, ඇඟිලි අග ඇතුන් සියයකි.

9. යෙන වා කයිරතෙ තං කරණං, යනු සංඥසූත්‍රයි—යෙනය වාය කයිරතෙය තංය කරණංය යනු පදයි; කර්තෘතෙමේ අත්‍යන්තොපකාර කිසිවකින් කර්තෘව්‍ය

මුදුන්පත් කෙරේනම් ක්‍රියාසිද්ධියෙහි අතිසයින් පිවිවහල් ඒය කරණනම්-හේ අභ්‍යන්තර බාහිරයයි විවිධවේ, හත්ථේන කම්මං කරොති, අග්ගිනා කුම්භං ඨාපෙති යනු උදාහරණයි.

10. යං කරොති තං කම්මං, යනු සංඥාසූත්‍රයි—යංය කරොතිය තංය කම්මංය යනු පදයි, කර්තෘතෙමේ යමක් කෙරේනම් ඒ කර්මනම් වේ-හේ දස වැදෑරුම්යයි සමහරු කියති-එනම්, නිර්වර්ත්‍යති විකෘති ප්‍රාප්ති යන තුනත් සමග බාලප්පබොධනයෙහි දක්වනලද "ඉච්ඡිතකම්මං අනිච්ඡිතකම්මං නෙවිච්ඡිතානාච්ඡිතකම්මං අකථිතකම්මං කත්තුකම්මං අභිහිතකම්මං අනභිහිතකම්මං යන සතයි-යත් ක්‍රියතෙ තත් කර්ම යි, ශාබ්දිවණ්ණ සූත්‍රය අස්ඛලිතයි, යමක් කරණුලැබේනම් ඒ කර්මය යනු අර්ථයි.

මෙයින් අකථිතකර්මය විකර්මක ධාතුයොගයෙහි යෙදේ; විකර්මක ධාතුනම්, යාං දුහ්ගඩි පඃ යනාදීයයි, මෙහි සොළොස් ධාතුකෙනෙක් දතයුතු-එනම්-දුහ, යාච, පච, දණ්ඩ, රුධි, පුච්ඡ, චි, බ්‍රෑ, සාසු, ජි, මන්ථ, මුස, යන දොළස හා; නී, හර, කඩ්ඪ, වහ යන මේ සතරත් සමග සොළොස්ධාතු දතයුතුයි-අප්පධානං දුහාදීනං යනාදි කිපරිච්ඡෙදන් විශෙෂ දතයුතු.

11. යො කරොති ස කත්තා, යනු සංඥාසූත්‍රයි—යොය කරොතිය සොය කත්තාය යනු පදයි; යමෙක් ගමන පචනාදී ක්‍රියාව කෙරේනම් හේතෙමේ කර්තෘනම් වේ.

12. යො කාරෙති ස හෙතු, යනු සංඥාසූත්‍රයි—යොය කාරෙතිය සොය හෙතුය යනු පදයි; යමෙක්තෙමේ කරවානම් ඒ හෙතුකර්තෘනම්.

13. යස්ස වා පරිග්ගහො තං සාමි, යනු සංඥාසූත්‍රයි—යස්සය වාය පරිග්ගහොය තංය සාමිය යනු පදයි, යමෙකුගේ ස්වීකෘතද-එනම්, යමෙකුගේ ස්වාමි ආදියයි, ස්වාමි ආදිය, පර්යායෙන් සම්බන්ධනම් වේ, ඉමස්ස ජනස්ස දෙවදත්තො සාමි, දෙවදත්තස්ස ආයත්තං ඉදං ජනං, මෙසේ පර්යායෙන් විශෙෂණය සාමිනම් වේ, පරිග්ගහ ශබ්දයාගේ අර්ථ මෙසේ දතයුතු.

පරිග්‍රහඃ කලත්‍රෙච මූලසච්කාරයොරපි
ශපථෙ පරිවාරෙච රාජුවකත්‍රසථ හාසකාරෙ.

14. ලිඞ්ගත්ථෙ පඨමා, යනු විධිසූත්‍රයි—ලිඞ්ගත්ථෙය පඨමාය යනු පදයි; ලිඞ්ගාර්ථ මාත්‍රය හෝ ශබ්දාර්ථමාත්‍රය කිවමනාකල ප්‍රථමාවේ.

15. ආලපනෙ ච, යනු විධිසූත්‍රයි—ආලපනෙය චය යනු පදයි; අභිමුඛීකරණ හෝ කැඳවීම කිවමනාකලද ප්‍රථමාවෙයි, ච ශබ්දය උක්තසමුච්චයයි.

16. කරණෙ තතියා, යනු විධිසූත්‍රයි—කරණෙය තතියාය යනු පදයි; කරණයෙහි තෘතීයා වේ.

17. සහාදියොගෙ ච, යනු විධිසූත්‍රයි—සහාදියොගෙය චය යනු පදයි; තතියායි අනුවර්තනයකරණු; මෙහි ආදි ශබ්දයෙන්, සහ, සද්ධිං, අලං, කිං ආදිය අන්‍ය ව්‍යාකරණකතනයින් දනෙත්‍ය.

18. කත්තරි ච, යනු විධිසූත්‍රයි—කත්තරිය චය යනු පදයි; අනුක්ත කර්තෘයෙහිද තෘතීයාවේ; චකාරය පූර්වාපෙක්ෂාකත පරිදිමැයි.

19. හෙතුත්ථෙ ච, යනු විධිසූත්‍රයි—හෙතුත්ථෙය චය යනු පදයි; හෙත්වර්ථයෙහිද තෘතීයාවෙයි; කරණයනම් ව්‍යාපාරයි—හෙතුනම්, ඵල පුෂ්ප උත්පත්තියට කාරණවූ ඍතු ආදියසේ හෙතුමාත්‍ර දතයුතු; එසේම පුණ්‍යෙන ලබ්බානිධිඃ යනාදියද දතයුතු.

20. සත්තම්‍යත්ථෙ ච, යනු විධිසූත්‍රයි—සත්තම්‍යත්ථෙය චය යනු පදයි; සප්තමි අර්ථයෙහිද තෘතීයාවෙයි; කාල, යොජන ක්‍රොෂ ආදීන් හා දිසා හා දෙසාදියෙහි මේ සප්තමිය යෙදෙයි—කාලෙන ධම්ම සවනං යනාදිය උදාහරණයි.

21. යෙනඞ්ගවිකාරෙ, යනු විධිසූත්‍රයි—යෙනය අඞ්ගවිකාරෙය යනු පදයි; අක්ෂි ආදි යම් විකාර අවයවයකින් ඒ විකාර අවයවී පුරුෂාදිය හැඟේනම් එසේ තැන තෘතීයා වෙයි සේයි.

22. විසෙසනෙ ච, යනු විධිසූත්‍රයි—විසෙසනෙය චය යනු පදයි; ගොත්තෙන ගොතමො යනාදී පෙළ දක්වූ පරිදිමැයි.

23. සම්පදානෙ චතුත්ථී, යනු විධිසූත්‍රයි—සම්පදානෙය චතුත්ථිය යනු පදයි-සම්ප්‍රදානය කිවමනාකල චතුර්ථී වේ; දාන ක්‍රියා සම්බන්ධය විනා ඉතිරි රොචනධාරණාදී සෑම තන්හිම ෂෂ්ඨිය යනු මුගලන් මතයි-එහෙත් පාණිනීය කාතන්ත්‍ර මුග්ධබොධාදී අන්‍ය ව්‍යාකරණ මාර්ග මෙම කාත්‍යායන මතමැයි.

24. නමොයොගාදීස්වපි ච, යනු විධිසූත්‍රයි—නමොයොගාදීසු අපිය චය යනු පදයි; මෙහි ආදි ශබ්දයෙන් සොත්ථි, අලං යනාදී අන්‍ය ව්‍යාකරණ නයින් දනෙන්යි.

25. අපාදානෙ පඤ්චමී, යනු විධිසූත්‍රයි—අපාදානෙය පඤ්චමීය යනු පදයි, පූර්වෝක්ත පරිදෙන් අපාදාන සංඥා ඇතුවුත් විෂයෙහි පඤ්චමී සංඥා ඇති ස්මා හි යන දෙදෙන වෙති.

26. කාරණත්ථෙ ච, යනු විධිසූත්‍රයි—කාරණත්ථෙය චය යනු පදයි, හෙත්වර්ථයෙහිද පඤ්චමීවෙයි සේයි.

27. කම්මත්ථෙ දුතියා, යනු විධිසූත්‍රයි—කම්මත්ථෙය දුතියාය යනු පදයි, කර්තෘහු විසින් යමක් කරණුලැබේ නම් ඒ කර්මනම් වේ; එය අනුක්ත කල හෙවත් කර්තෘ කාරක ක්‍රියාව ව්‍යාප්ත වනකල ද්විතියා වේ.

යදසජ්ජායතෙ සද්වා ජන්මනා යත් ප්‍රකාශතෙ
තන්නිර්වර්ත්‍යං විකාර්‍ය්‍යංච* කර්ම්ම වෙධා ව්‍යවස්ථිතම්.
ප්‍රකෘත්‍යුච්ඡෙදසම්භූතං කිඤ්චිත් කාෂ්ඨාදිභස්මවත්
කිඤ්චිද් ගුණාන්තරොත්පත්ත්‍යා සුවර්ණාදිවිකාරවත්.
ක්‍රියාකෘතවිශෙෂාණාං සිද්ධිර්‍යත්‍ර න විද්‍යතෙ †
දර්ශනාදනුමානාද්වා තත් ප්‍රාප්‍යමිහ ‡ කථ්‍යතෙ.

අසත්, අවිද්‍යමානවූ; යත්, යමක්; ජායතෙ, උපදීද; සද්වායත්, විද්‍යමානවූ හෝ යමක්; ජන්මනා, උත්පත්තියෙන්; ප්‍රකාශතෙ, ප්‍රකාශවේද පෙණේද; තත්, ඒ; නිර්වර්ත්‍යං, නිර්වර්ත්‍ය කර්මනම්-විකාර්‍ය්‍යංච කර්ම, විකාරකට යුතුකර්මයද; වෙධාව්‍යවස්ථිතම්, දෙපරිදෙකින් ව්‍යව

* විකාර්‍ය්‍යන්තු- † ගම්‍යතෙ- ‡ මිති-පච්කාඥදීප-එක ල තිබුනුහැම්යි.

ස්ථිතයි වෙන්ව සිටියි; කිඤ්චිත්, කිසිවක්; කාෂ්ඨාදිභස්මවත්, දඬු ආදිය හළුකිරීමක් සෙයින්; ප්‍රකෘත්‍යුච්ඡෙද සම්භූතං, ප්‍රකෘතිහානියෙන් වූයේනම; කිඤ්චිත්, වැලි කිසිවක්; සුවර්ණාදිවිකාරවත්, සුවර්ණං කෙයූරං කරොති යනාදී සුවර්ණ විකාරසෙයින්; ගුණාන්තරොත්පත්තා, අන්‍යගුණ ඉපැද්මෙන් සිද්ධවූයේනම ~ පුරිසො දණ්ඩමන්ථෙන අග්ගිං ජනයති; ඉත්ථී ගබ්භං පසවති ~ කට්ඨං භස්මං කරොති; සුවණ්ණං කුණ්ඩලං කරොති ~ සතරාකාර උදාහරණ මෙසේයි.

ක්‍රියාකෘතවිශෙෂාණං, ක්‍රියායෙන්කළ වෙනසුන්ගේ; සිද්ධිඃ, සිද්ධියක්; දර්ශනාත්, දැක්මෙන් වේවයි; අනුමානාවා, අනුමානයෙන් වේවයි; යත්‍රනවිද්‍යතෙ, යම්තැනෙක විද්‍යමාන නොවේනම්; තත්, ඒ; ප්‍රාප්‍යං, ප්‍රාප්‍යකර්මයයි; ඉහකථ්‍යතෙ, මෙහි කියනුලැබෙයි ~ රූපං පස්සති ආදිය උදාහරණයි.

28. කාලද්ධානමච්චන්තසංයොගෙ, යනු විධිසූත්‍රයි— කාලද්ධානංඃ අච්චන්තසංයොගෙය යනු පදයි, කාලොච අද්ධාච යී වන්දකොට කාලද්ධානං යී ඡට්ඨී බහුවචනයි, ඒ කාල අධ්ව දෙදෙනා වෙන්වෙන්ව ද්‍රව්‍යයක් ගුණයක් ක්‍රියාවක් හා නිරන්තර සම්බන්ධ ඇතිකල කාල අධ්ව ශබ්ද දෙදෙනා කෙරෙන් ආධාරාර්ථයෙහි විභක්තියාවෙයි යනු භාවයි; කාලනම් මාස ඍතු ආදියයි, අධ්වනම් ක්‍රොශ යොජනාදියයි.

29. කම්මප්පවචනීයයුත්තෙ, යනු විධිසූත්‍රයි—කම්මප්පවචනීයයුත්තෙ යනු එක පදිකයි; කම්මං පවචනීයං එතෙහීති කම්මප්පවචනීයා තෙහි යුත්තං යී තෘතීයා තත්පුරුෂයි.

කර්මප්‍රවචනීයාඃ, යන පාණිනීය සූත්‍රයට ව්‍යාඛ්‍යාන ලිය තෙනා“කර්ම ක්‍රියාං ප්‍රොක්තවන්ත ඉති කර්මප්‍රවචනීයාඃ කර්තරි භූතෙවානීයර් ප්‍රත්‍යයඃ තෙන සම්ප්‍රති ක්‍රියාං න කථයන්ති” ආචාර්යශ්‍රී භර්තෘහරීන් විසින්ද

ක්‍රියායා ද්‍යොතකො නායං සම්බන්ධස්‍ය න වාචකඃ
නාපි ක්‍රියාපදාපෙක්ෂී සම්බන්ධස්‍යතු භෙදකඃ.

අයං, * මේ කර්මප්‍රවචනීය සංඥා ඇතොත්; ක්‍රියායාඃ නද්‍යොතකඃ, ක්‍රියා ප්‍රකාශකරනෙන්ද නොවේ; සම්බන්ධස්‍ය නවාචකඃ, සම්බන්ධයද නොකියයි; ක්‍රියාපද අපෙක්ෂීපින, අන්‍ය ක්‍රියාපදයක් බලනෙන්හෝ නොවේ; සම්බන්ධස්‍යතුභෙදකඃ, හුදක් සම්බන්ධය වෙශෙසයි.

රුක්ඛා අනු විජ්ජොතතෙ චන්‍දො.

චන්‍දො, සඳ; විජ්ජොතනෙ, දිලිසේ; කොහිද්‍යෙයි විචාරනාව; රුක්ඛා අනු, ගසඑල්ලෙල්ය; යනු කීකල ඒ සලකුණෙන් සඳ පෙණේ-එහෙයින් රුක්ඛ යනු, ඥාපක හෙතුයි "අනු" උපසර්ගයා එබව ප්‍රකාශකෙරේ, එහා සම්බන්ධයෙන් ද්විතීයාද වෙයි; චන්‍දො යනු, ශූන්‍යයි-පුරාතනයන් විසින් මේ කියනලදී.

ජනකො ඥාපකොචෙති ද්විධා හෙතවො සියුං

30. ගතිබුධිභුජපඨහරකරසයාදීනං කාරිතෙ වා, යනු විධිසූත්‍රයි—ගතිබුධිභුජපඨහරකරසයාදීනංය කාරිතෙය වාය යනු පදයි; ගති, ප්‍රවෙශන, ආරොහණ, තරණ, ප්‍රාපණාදි ගමනාර්ථ ධාතුය; බුධි, අවබොධාර්ථධාතුය; භුජ, භොජනාර්ථධාතුය; පඨ, පඨනාර්ථධාතුය; හර, හරහරණෙ යන ධාතුය; කර, කරකරණෙ යන ධාතුය; සය, සියෙ යන ධාතුය; මේආදි ධාතූන් සම්බන්ධයෙහි අකාරිතකල යමක් කර්තෘනම් එතෙමේ කාරිතවත්කල විකල්පයෙන් කර්මවෙයි; කර්මනොවූ තැන අනුක්ත කර්තෘයෙහි තෘතීයාවෙයි; උදහරණ පෙළ කී පරිද්දෙන් දතයුතුයි.

31. සාමිස්මිං ඡට්ඨී, යනු විධිසූත්‍රයි—සාමිස්මිංය ඡට්ඨීය යනු පදයි.

32. ඔකාසෙ සත්තමී, යනු විධිසූත්‍රයි—ඔකාසෙය සත්තමීය යනු පදයි.

33. සාමිස්සරාධිපති දායාද සක්ඛිපතිභූ පසූත කුසලෙහිච, යනු විධිසූත්‍රයි—සාමිස්සරාධිපතිදායාදසක්ඛිපතිභූපසූ

---

* පඤ්චිකාප්‍රදීපයෙහි-"මේ අභි ශබ්දය" යි යනු එකක් බලා කී අර්ථයි

තකුසලෙහිය චය යනු පදයි; සාමි, ස්වාමිහෝ හිමියායි; ඉස්සර, ප්‍රභු නායක යනාර්ථයි; දායාද, පුවෙණි උරුම නැහෝයි; සක්ඛි, සාක්ෂිහෝ ප්‍රත්‍යක්ෂකොට දක්නේයි; පතිභූ, ඇපයි; පසූත, උත්පාදයි; කුසල, තත්පරයි; ගසුද්දෙනා පඨනස්ස පඨනෙවා කුසලොයි උදහරණයි–සෙසස සුබොධයි; මේ ශබ්ද යොගයෙහි ෂෂ්ඨී හෝ සප්තමීවෙයි.

34. නිද්ධාරණෙ ච, යනු විධිසූත්‍රයි—නිද්ධාරණෙය ච ය යනු පදයි, ජාතිය ගුණය ක්‍රියාය යන මෙයින් එකක් කාරණකොටගෙණ, සමුදායෙන් එක දෙයක් වෙන්කිරීම නිද්ධාරණනම් වෙයි; පාණිනාදි ආචාර්යවරයෝ නාම ය කාරණකොටගෙණද, සමුදායෙන් වෙන්කිරීම නිද්ධාරණයයි පිළිගණිති, සෙසෝ පූර්වචීත්‍රය පමණක් පිළිගණිති; මෙහි සමුදාය තිවමනාතන්හි ෂෂ්ඨී හෝ සප්තමී වෙයි.

35. අනාදරෙ ච, යනු විධිසූත්‍රයි—අනාදරෙය ච ය යනු පදයි; නොසලකා යමක් කරණතැනද, ෂෂ්ඨී හෝ සප්තමී විභක්තිවෙයි–අකාමකානං මාතාපිතූනං රුදන්තානං පබ්බජි, අකාමකෙසු මාතාපිතූසු රුදන්තෙසු පබ්බජි කියාද වෙයි.....පශ්‍යතො වකමූර්ඛස්‍ය නකුලෙන භක්ෂිතාඃ ඛගාඃ, තොක් මෝඩයා බලාහිඳදී; (නොසලකා) මුගටින් විසින් ලිහිණියෝ කනලදහ.

36. ක්වචි දුතියා ඡට්ඨීනමත්ථෙ, යනු විධිසූත්‍රයි—ක්වචිය දුතියාය ඡට්ඨීනංය අත්ථෙය යනු පදයි; ෂෂ්ඨීන්ගේ අර්ථයෙහි කිසිතැනෙක ද්විතීයා විභක්තිවෙයි, මෙද සංක්ෂෙපයි, අන්‍ය ව්‍යාකරණකාර පරිද්දෙන් අර්ථ ගතයුතුයි–අන්තරා, අභිතො, පරිතො, පටිභා මේ ආදීන්ගේ යොගයෙහි වෙයි; එනම්, අන්තරාච රාජගහං අන්තරාච නාලන්දං යනාදිය සෙයිනි; සංස්කෘතයෙහි මද වෙනසක් පෙණෙයි, අන්තරා ත්වාං මාංච කමණ්ඩලුඃ, මෙහි එක් අන්තරා ශබ්දයයි, ච ශබ්දයක්ද කිසිතැනෙක ද්විතීයාවෙන් පර ව පෙණෙයි, තවමමච මධ්‍ය යි අර්ථයි.

37. තතියාසත්තමීනඤ්ච, යනු විධිසූත්‍රයි—තතියාසත්තමීනංය ච ය යනු පදයි; තෘතීයා සප්තමීන්ගේ අර්ථයෙහිද

කිසිතැනෙක ද්විතියා විභක්තිවෙයි; සචෙ මං නාලපිස්සති, පුබ්බණ්හසමයං නිවාසෙත්වා යනාදිය උදාහරණයි.

38. ඡට්ඨීච, යනු විධිසූත්‍රයි—ඡට්ඨීය ච ය යනු පදයි; තෘතීයා සප්තමී අර්ථයෙහි කිසිතැනෙක ෂෂ්ඨීද * වෙයි, පුප්ඵස්ස බුද්ධං ජයති, කුසලා නච්චගීතස්ස යනාදිය උදාහරණයි-පුප්ඵෙන-නච්චගීතස්මිං යි අර්ථයි.

39. ද්විතියාපඤ්චමීනඤ්ච, යනු විධිසූත්‍රයි—ද්විතියාපඤ්චමීනංය ච ය යනු පදයි-ද්විතියා පඤ්චමී අර්ථයෙහිද කිසිතැනෙක ෂෂ්ඨී විභක්තිවෙයි; තස්ස භවන්ති වත්තාරො යනු හා අස්සවණතා ධම්මස්ස පරිහායන්ති යනාදිය උදාහරණයි.

40. කම්මකරණනිමිත්තත්ථෙසු සත්තමී, යනු විධිසූත්‍රයි—කම්මකරණනිමිත්තත්ථෙසුය සත්තමීය යනු පදයි; කර්මය, කරණය, නිමිත්තය යන අර්ථයන්හි සප්තමී වෙයි; භික්ඛූසු අභිවාදෙන්ති, නගගා හත්ථෙසු පිණ්ඩාය චරන්ති.

චර්මණි ද්වීපිනං හන්ති දන්තයොඃ හන්ති කුඤ්ජරම්
කෙශෙෂු චමරීං හන්ති සීම්නි පුෂ්කලකො හතඃ.

සම සඳහා දිවියා නසයි; දළදෙක සඳහා ඇතු නසයි; කෙස් හෝ වාලධිය සඳහා සෙමෙර මුවා නසයි; කස්තුරු මුවා අඬකොසය සඳහා නසනලදී යනු භාවයි.

41. සම්පදානෙ ච, යනු විධිසූත්‍රයි—සම්පදානෙය ච ය යනු පදයි; සම්ප්‍රදානාර්ථයෙහිද සත්තමී විභක්තිවෙයි.

සඞ්ඝෙ ගොතමී දෙහි යනාදිය උදාහරණයි—අනාදි වෛයාකරණයෝ දානපාත්‍රයෙහි සප්තමීද යෙදෙයි, සර්වඥාදි ශිෂ්ටයන්ට මේ අභිප්‍රේත හෙයින් සම්ප්‍රදාන අර්ථ නොවෙයි; විෂය සප්තමීයයි කියති; එසේකල සඞ්ඝයා විෂයයෙහි දෙයි යනු අභිප්‍රායි.

---

* නාග්නිස්තෘප්‍යති කාෂ්ඨානාං නාපගානාං මහොදධිඃ; නාන්තකඃ සර්වභූතානාං න පුංසාං වාමලොචනා—මේ නිදොපදෙශයි-මෙහි "කාෂ්ඨානාං" ආදී ෂෂ්ඨී සතර තෘතීයා කිවමනාතැනි.

42. පඤ්චම්‍යපෙත්ථ, යනු විධිසූත්‍රයි—පඤ්චම්‍යපෙත්ථ වය යනු පදයි; පඤ්චමී අර්ථයෙහිද ආධාරවිභක්ති වෙයි; කදලීසු ගජෙ රක්ඛන්ති යි, උදාහරණයි.

43. කාලභාවෙසු ච, යනු විධිසූත්‍රයි—කාලභාවෙසුය වය යනු පදයි; වේලා අර්ථයෙහිද, අනික් ක්‍රියාවකට නිමිත්තවන ක්‍රියාවෙහිද සප්තමී වෙයි; පුබ්බණ්හසමයෙ ගතො, ගොසු දුය්හමානාසු ගතො යනාදිය උදාහරණයි.

44. උපාධ්‍යධිකිස්සරවචනෙ, යනු විධිසූත්‍රයි—උපාධ්‍යධිකිස්සරවචනෙ යනු එක පදකි; අතිරික්තාර්ථ උපය, ඊශ්වරාර්ථ අධිය යන දෙදෙනාගේ යොගයක් ඇතිකල සප්තමීවෙයි යනු භාවයි-එනම්, උපනික්ඛෙ කහාපණං, නික්ඛ මතුයෙහි කහවණුවයි; නික්ඛද කහවණුවක්ද යන අර්ථයි—බාලාවතාර සන්නාදී බොහෝතැන නික්ඛනම් පසළොස් කලඳයයි කියත්; මේ වරදයි, නික්ඛනම් පස්විසි කලම් බර රන්වෙයි-සුවණ්ණො පඤ්චධරණං නික්ඛඤ්චනිත්ති පවතෙයි-අභිධානප්පදීපිකා නාමින් දතයුතු; අධි බ්‍රහ්මදත්තෙ පඤ්චාලා, බ්‍රහ්මදත්තෙ අධි, බඹදත්නු පිරිවැරූහෝ බඹදත්නුගේ පිරිස්වූ; පඤ්චාලා, පසල්රටවැස්සෝයි; අධි පඤ්චාලෙසු බ්‍රහ්මදත්තො කියා හෝ වේ: පඤ්චාලයන් විෂයෙහි බ්‍රහ්මදත්තයා ඊශ්වරයි, යන අර්ථයි.

45. මණ්ඩිතුස්සුක්කෙසු තතියා ච, යනු විධිසූත්‍රයි—මණ්ඩිතුස්සුක්කෙසු තතියාය වය යනු පදයි; ප්‍රසන්නාර්ථයෙහිද, උත්සාහවත් අර්ථයෙහිද වරින්වර තෘතීයා සප්තමී වෙයි ලෙසයි.

# න ම ශ් ශ්‍රී ඝ නා ය.

## සර්වලිඞ්ග විභක්ති සාධාරණවූ ප්‍රාදීන්ගේ අර්ථ ව්‍යක්ති දක්වනුලැබේ.

ප ඉති, පකාරාදිකම්ම පධානන්තෝභාව වියෝග තප්පර භුසත්ථ සම්භව තිත්ති අනාවිල පත්ථනාදිසු-ප යන මේ උපසර්ගයතෙම, ප්‍රකාරයෙහිද, ආදි ක්‍රියාවෙහිද, ප්‍රධානයෙහිද, අන්තර්භාවයෙහිද, වියෝගයෙහිද, තත්පරයෙහිද, අතිසයෙහිද, ප්‍රභවයෙහිද, තෘප්තියෙහිද, ප්‍රසන්නයෙහිද, ප්‍රාර්ථනාදියෙහිද; ආදි ශබ්දයෙන් නියෝගයෙහිද, ඓශ්වර්යයෙහිද, ප්‍රීතියෙහිද, දානයෙහිද, පූජායෙහිද, අග්‍රයෙහිද, ශාන්තයෙහිද, දර්ශනයෙහිද, ආලයෙහිද, ප්‍රශංසායෙහිද, ශාමෙහිද, ශුද්ධියෙහිද, හිංසායෙහිද අවයවයෙහිද, දික්යෝගයෙහිද, ස්තුතියෙහිද යන මේ ආද්‍යර්ථයෙහි වැටේ.

මේ ප්‍රාදි විංශත්‍යුපසර්ගයෝ විද්‍යමාන ඝටාදිය ප්‍රකාශ කරන්නාවූ ප්‍රදීපාදියමෙන් ධාතූන්ගේ විද්‍යමානාර්ථය ජෝතනයකරණ හෙයින් අර්ථ ප්‍රකාශයෙහි වැටෙන්නාහුවෙත් *-යේ මෙසේයි.

---

* සන්තමෙව නීලාදි වණ්ණං දීපාදයො විය;
ධාතුස්මිං සන්තමෙවත්ථං උපසග්ගා පකාසකා.

විද්‍යමානවූම, නීලපීතාදි පස් පැහැය පහන් විලක්කු ආදීන්සේ ධාතුයෙහි ඇත්තාමවූ අර්ථය උපසර්ගයෝ පහළකෙරෙත්—බාලාවතාරකාරාදීන්ගේ මතය මෙසේයි.

මහාසිද්ධාන්තකෞමුදීකාරාදීනු

උපසර්ගේණ ධාත්වර්ථෝ බලාදන්‍යත්‍ර නීයතෙ;
ප්‍රහාරාහාර සංහාර විහාර පරිහාරවත්.

ධාත්වර්ථඃ, ධාතූන්ගේ අර්ථයතෙමේ; උපසර්ගේණ, උපසර්ගයා විසින්; බලාත්, ලාහෙලා; අන්‍යත්‍ර, අන්තැන්හි; නීයතෙ, පමුණුවනුලැබේ; එනම්, ප්‍රහාර, ආහාර, සංහාර, විහාර, පරිහාරවත්, මෙසේයි—ප්‍රහාර ගැසීම; ප්‍රහරති, ගසයි; ආහාරඃ, බතයි; ආහරති, කයි ගෙණෙයි හෝයි; සංහාරඃ, හැකිලීම විනාශය; සංහරති, හකුල

පඤ්ඤ, ප්‍රකාරයෙන් දැනමයි–විප්පකතං, කරන්ට ආරම්භයි හෙවත් අඩාලකරණලදී–පණීතං, උතුම් හෙවත් ප්‍රධානබවට පමුනුවනලදී–පකඩ්ඪිතං, ඇතුල්නී බහනලදී–පවාසී, වෙන්ව විසූයේ හෙවත් විදෙසගතයි–පාචරියො, ආචාර්‍ය්‍යයාගේ ආචාර්‍ය්‍යයයි–පවඩ්ඪකායො, අතිසයින් වැඩුනාවූ ශරීර ඇතෙත්යි–පභවති, උපදී–පගුනං, පිනාය න පමනා ඇති හෙවත් පරිපූර්ණයි–පසන්නං, අපගත කාලුෂ්‍ය ඇතෙත්යි හෙවත් ප්‍රසන්නයි–පණිහිතං, ප්‍රාර්ථනාකරණලදී—මෙති ආදී ශබ්දයෙන් පදෙශො යනාදී

---

යි කැටිකෙරෙයි; විහාර, වාසඃ විහරති, වෙසෙයි; පරිහාරඃ, හැරීම පැවැත්මහෝයි; පරිහරති, අත්හරි පොෂණයකෙරේ හෝයි—මේ අවසානයෙහි පෙණෙන වති ප්‍රත්‍යය ප්‍රහාරාදී සියලු ශබ්දයන් හා පාඨක් සම්බන්ධයයි දතයුතුයි; මෙහි, එකම, හෘඤ්, හරණෙ යන ධාතුව ප්‍රාදී සම්බන්ධයෙන් අනෙකාර්ථ ප්‍රකාශකබැව් දතයුතුයි.

ධාත්වර්ථං බාධතෙ කශ්චිත් කශ්චිත් තමනුවර්තතෙ
තමෙව විශිනෂ්ටයන්‍ය උපසර්ගගතිස්ත්‍රිධා.

කශ්චිත්, කිසි උපසර්ගයෙක්; ධාත්වර්ථං, ධාතුහුගේ අර්ථය; බාධතෙ, වලකා; කශ්චිත්, අනික් කිසි උපසර්ගයක්; තං අනුවර්තතෙ, එම ධාත්වර්ථය සමග වැටෙයි; අන්‍යඃ, වැලි අනෙකෙක්; තමෙව, ඒ ධාත්වර්ථයම; විශිනෂ්ටි, වෙසෙසයි; උපසර්ගගතිඃ, උපසර්ගයන්ගේ ස්වභාව; ත්‍රිධා, මෙසේ තුන්වැදෑරුම්–මෙද බහුතරාචාර්‍ය්‍ය සම්මතයි,

යස්මාදුපසෘජන්‍යර්ථාන් පදස්‍යොපරි ගච්ඡති
ක්‍රියායොගවහස්තස්මාදුපසර්ගඉති සම්මතඃ.

යස්මාත්, යම්හෙයකින්; අර්ථාන්උපසෘජන්, අර්ථයන් විහුරුවමින්; ක්‍රියායොගවහඃ, ක්‍රියාසම්බන්ධ උසුලනෙන්; පදස්‍යඋපරි, පදයාගේ මතෙහි; ගච්ඡති, යේද; තස්මාත්, එහෙයින්; උපසර්ගඃඉති, උපසර්ගයයි; සම්මතඃ, දනාලදී.

නාමයන්ද, පකාසති යනාදි ක්‍රියාවන්ද ගනෙන්යි—මෙහි හැම ප්‍රාදීන්ගේ * නාම ග්‍රහණයද ක්‍රියාදී ග්‍රහණයද මෙසේ දතයුතු.

පරා ඉති, පරිහාණි පරාජයගතිවික්කමාමසනාදිසු-පරා යන මේ උපසර්ගයතෙම; පිරිහීමය, පැරදීමය, ගතිය හෙවත් පිහිටය, උත්සාහය, පරාමර්ශනය හෙවත් ස්පර්ශය-ආදී ශබ්දයෙන් අභිසජ්ජය ප්‍රතිපක්ෂභාවය යන මේ ආද්‍යර්ථයන්කෙරෙහි වැටේ—හේ මෙසේයි-පරාභවො, පිරිහීමයි; පරාජිතො, පැරදියේයි; පරායණං, පිහිටයි; පරාක්කමො, උත්සාහයි; පරාමසනං, ස්පර්ශකිරීමයි—ආදී ග්‍රහණයෙන් සීලබ්බතපරාමාසො පරාමසති යනාදී ගතයුතු.

නි ඉති නිස්සෙස නිග්ගත නීහරණන්තොපවෙසනාභාව නිසෙධනික්ඛන්තපාතුභාවාවධාරණ විභජනූපමානුපධාරණාවසාන ඡෙකාදීසු—නි යන මේ උපසර්ගයතෙම; නිරවශෙෂය, නිර්ගතය, වෙන්කිරීමය, ඇතුළත්හි ප්‍රවෙශකිරීමය, නොවීමය, වැළකීමය, නිෂ්ක්‍රාන්තය හෙවත් නික්මීමය, පහළවීමය, නිශ්චය, විභාගකිරීමය, උපමාය, දැරීමය, කෙළවරය, දක්ෂය-ආදී ශබ්දයෙන් සන්නිවේශය, අත්‍යර්ථය, මොක්ෂය, රාශිග්‍රහනය, නියොගය, හීනාර්ථය, ප්‍රසාදය, විනාශය, දර්ශනය, සමීපත්වය, බන්ධනය, ප්‍රාදුර්භාවය, වියොගය, උපරතිය යන මේ ආද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි-නිරුත්ති, නිරවශෙෂයෙන් කීමයි; නික්කිලෙසො, විගත කෙලෙශයන් ඇත්තේයි; නියාති, පහවේ; නිවාරණං, වෙන්කිරීමයි; නිඛාතො, බිම හිඳුවනලදී හෙවත් භූමිගතකරණලදී; නිම්මක්ඛිකං, මැස්සන් නැතිබවයි; නිවාරෙති, වලකා; නිබ්බුතො, නිෂ්ක්‍රාන්තවූ තෘෂ්ණා ඇත්තේයි; නිබ්බාණං, නිෂ්ක්‍රාන්තවූ තෘෂ්ණාවයි නිවනි; නිම්මිතං, මවනලදී හෙවත් නිමවනලදී; නිව්ජෙසො, සනිවූහති හෙවත් නිණීනයි; නිද්දෙසො, විභාගකොට කියනලදී නොහො

* ප්‍රාදී සූත්‍රයන්ගේ.

ත් විස්තරහෙයින් දක්වීමයි; නිදස්සනං, දෘෂ්ටාන්තයි හෙවත් උදාහරණ වශයෙන් දක්වීමයි; නිස්සාමිනං, ශ්‍රොතෘවිඥානයන්ගෙණ සිතින් දරීමයි; නිසිතං, සමාපතයි; නිපුණො, දක්‍ෂයි—ආදි ශබ්දයෙන් නිරොධ නිබ්බුත නිග්ගහ නිපාත නිලය යනාදී ගතයුතුයි.

නි ඉති නීවරණ නීහරණාදිසු—නි යන මේ උපසර්ගයතෙම; දුරුකිරීමය, වැලකීමය-ආදි ශබ්දයෙන් ගැන්මය අශොභනය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි—නීහරති, ඉවත්කෙරේ හෙවත් දුරුකෙරේ; නීවරණං, වැලකීමයි-ආදි ශබ්දයෙන් නීහරණං, නීරසං යනාද්‍ය ගතයුතු.

උ ඉති උග්ගතුබ්භකම්මප්පධාන (උක්ඛෙප) විශොග සම්භව අත්තලාභ සත්ති සරූප කථනාදිසු—උ යන මේ උපසර්ගයතෙම; නැගීමය, උඩුකිරීමය හෙවත් අස්නෙන් නැගිසිටීම ආදි ඌර්ධව ක්‍රියාය, මතුබලා දැමීමය, විප්‍රවාසය, උත්පත්තිය, ආත්මලාභය, උත්සාහය, ස්වරූපයෙන් කීමය—ආදි ශබ්දයෙන් සමෘද්ධිය, ප්‍රාදුර්භාවය, වරදය, පූජාය, අභාවය, දුබලත්වය, ප්‍රකාශය, දක්‍ෂත්වය, කථනය, මොක්‍ෂය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි-උග්ගච්ඡති, නැගේ; උට්ඨිතො, යමකින් මත්තට නැගේ; උක්ඛෙපො, මතුබලා දමීවයි; උත්තමො, උතුම් හෙවත් ලොකොත්තරයි; උබ්බාසිතො, වෙන්වමවිශුයේයි; උබ්භූතො, සමභවී; උප්පන්නං ඤාණං, ඤාණයතෙම පහළවී උපනි * උස්සහති, උත්සාහකෙරේ; උද්දිසති, ස්වරූපයෙන් කීයා—ආදි ශබ්දයෙන් උක්කාස උබ්භාර උත්තාමම උබ්බට්ටෙති යනාදි ගතයුතු.

දු ඉත්‍යශොභනාභාව කුච්ඡිතාසම්ද්ධි කිච්ඡ විරූපතාදිසු—දු යන මේ උපසර්ගයතෙම; අශොභනය, අභාවය, කුත්සිතය, අසමෘද්ධිය, කෘච්ඡ්‍රය, විරූපය-ආදි ශබ්දයෙන් ඊෂදර්ථය, අසන්තොසය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේමෙසේයි-දුග්ගන්ධො, පිළිකුල් ගඳ ඇත්තේයි; දුබ්භික්ඛං, ආහාරනැත්තේයි; දුක්කතං, නපුරුකොට

* ආත්මප්‍රතිලාභය කෙළේ.

කරණුදී හෙවත් ලාමකකොට කරණලදී; දුස්ස ස්සං, අසමෘඬවූ ගොවිතැන් ඇත්තේයි; දුක්කරං, දුක්සෙන් කරණුලබනෙන්යි; දුබ්බණ්ණො, විරූපවූ පැහැ ඇත්තේ යි යන මේආදී ගතයුතු.

සං ඉති සමොධානසම්මාසමසමන්තභාව සංගත සංඛෙප භුසත්ථ [සුහත්ථොපපත්ථි] පභවාභිමුඛභාව සංගහ පිධාන පුනප්පුන කරණ සම්බාධාදීසු—සං යන මේ උපසර්ගයතෙම; එක්කිරීමය, සමයගර්ථය, සමය, හාත්පසින්වීමය, සංගතිය, සංක්ෂෙපය, භෘශාර්ථය, සහාර්ථය, අල්පාර්ථය, උත්පත්තිය, අභිමුඛවීමය, ගැන්මය, පිදහනය හෙවත් වැසීමය, නැවත නැවත කිරීමය, සම්පන්නතාය-ආදී ශබ්දයෙන් පූජාය, දුරීමය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේමෙසේයි-සන්ධි, එක්වීමයි; සමාධි, එකාග්‍ර ඛන චිත්තචෛතසිකයන් අවික්ෂෙප ලක්ෂණයෙන් පිහිටුවා-සම්පයුත්තො, සමව එකොත්පාදාදි ප්‍රකාරයෙන් යුක්තයි-සම්මාසම යන අර්ථවෙහි වෙනස මෙසේයි; සංකිණ්ණො, හාත්පසින් ගැවසීගත්තේයි; සමුප්පන්නො, හාත්පයින් උපතාරහෙයින් නිමයි—සංගමො, සංගතියි—සමාවායො, සංක්ෂෙපයි; සාරත්තො, අතිශයින් ඇළුනේයි; සංවාසො, එක්ව විසීමයි; සමග්ගො, මඳක් අගණේයි; සම්භාවො, උත්පත්තිකාරණයි නොහොත් ලැබීමයි; සම්මුඛා, හමුවීමයි නොහොත් සමීපවීමයි; සංගණ්හාති, සවිස්තාර සෙරේ හෙවත් ධර්මාමිස දානාදියෙන් සංග්‍රහකෙරේ; සංවුතං, පියනලදී; සන්ධාවති, නැවත නැවත දිවේ; සම්පන්නො, සමෘඬයි හෙවත් අනූනයි—ආදී ශබ්දයෙන් සඞ්ඛ්‍යා සඞ්ඛාත සණ්ඨාන සම්භාර සඤ්ඤා, සඞ්ගාම සංසය යනාදී ගතයුතු.

වි ඉති විසෙස විවිධ විරුද්ධ විගත වියොග විරූපතාදීසු—වි යන මේ උපසර්ගයතෙම; විශේෂාර්ථය, විවිධාර්ථය, විරුද්ධාර්ථය, විගතාර්ථය, විරූපත්වය—ආදී ශබ්දයෙන් අතිශය, අභාවය, අත්‍යර්ථය, ඓශ්වර්‍ය්‍යය, කලහය, ප්‍රාදුර්භූතය, සන්තොෂය, නිශ්චය, දූරය, දානාභිමුඛභ

වය, මෝහය, අනවස්ථිතිය, ප්‍රධානත්වය, භේදය, දක්‍ෂත්වය, සහාර්ථය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි-විමුත්ති, විශේෂයෙන් මිදීමයි; විසංයෝ, විශේෂයෙන් හරණලදී; විමති, සංසයයි හෙවත් විවිධකොට සිතීමයි; විචිත්‍රං, විසිතුරුයි; විවාදෙ, විරුඬවූ වාදයි; විමලං, නිර්මලයි; විප්පයුත්තො, වෙන්ව යෙදුනේයි; විරූපො, නපුරුවූ රූප ඇත්තේයි-ආදි ශබ්දයෙන්, විරති, විහාර, විස්සාස, විවාහ, යනාදි ගතයුතු.

අව ඉත්‍යධොභාව වියොග පරිභවාවජානන සුඩිනිච්ඡය දෙසථෙය්‍යාදිසු—අව යන මේ උපසර්ගයතෙම, යටබලා වීමය, විප්‍රයොගය, (හැරීමය), අවඥාය, අවබොධය, සුඩිය, සනිටුහන, ප්‍රදෙශය, ථෙය්‍යය-ආදි ශබ්දයෙන්, අල්පාර්ථය, අවකාශය, ව්‍යාප්තිය, හානිය, වාක්ක්‍රියාය, ඌනය, ප්‍රාප්තිය, යන මේආදි අර්ථයන් කෙරෙහි වැටේ-හේ මෙසේයි-අවක්ඛිත්තචක්ඛු, යටබලා හෙලනලද ඇස් ඇත්තේයි; ඔමුක්ක උපාහණො, පයින් ගලවනලද වහන් ඇත්තේයි; අවකොකිලං වනං, කොවුලන් විසින් හරණලද වනයයි; අවජානනං, පරිභවකොට හෝ නින්දාකොට දැන්මයි; අවමඤ්ඤති, නීචකොට සිතා; අවගච්ඡති, දනී; ඔදනං වොදනංවා, පිරිසිදුයි; අවධාරණං, නිශ්චයකොට දැරීමයි; අවකාසො, ප්‍රදෙසයි; අවහාරෙ, සොරානැන්මයි-ආදි ශබ්දයෙන් අවජීයති, පරදවනු ලැබේ; අවට්ඨිති, ස්ථිතිය; ඔකාසාති, පැමිනීමයි; ඔවදති, අවවාදකෙරේ; අවසානං, පැසීනතායි යන මේ ආදි ගතයුතු.

අනු ඉති අනුගතානුපවර්තන පච්ඡත්ථ භූසත්ථ සාදිස්ස හීන තතියත්ථ ලක්ඛනිත්ථම්භූතාක්ඛාන භාග වීච්ඡාදිසු—අනු යන මේ උපසර්ගයතෙම; අනුගතාර්ථය, අනුපවර්තනාර්ථය, පශ්චාදර්ථය, අතිශයාර්ථය, සදෘශභාවය, හීනාර්ථය, තෘතීයාර්ථය, ලක්‍ෂණාර්ථය, තත්ප්‍රකාරයකට ප්‍රාප්තයහුගේ කීමය, කොඨාසය, ප්‍රතිච්ඡාය-ආදි ශබ්දයෙන් අනුවෘත්තිය, අවධානාවය, අවකාශය යන මේ

ආදෘශ්‍යීයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි-අන්වේති;
අනුවයේ; අනුසයො, අප්‍රහීණ භාවයෙන් සන්තානයෙහි
නොසිඳී පවත්නේයි; අනුරථං, රථයාගේ පිටිපසයි; අ
නුරත්තො, අතිසයින් ඇලුනේයි; අනුරූපං, සදෘශයි;
අනුසාරිපුත්තං පඤ්ඤවන්තො, නුවනැත්තාහු නුවනින්
ශාරිපුත්‍රයන්හට හීනයෝයි; නදිමන්වවසිතාසෙනා, සෙනා
තොමෝ නදියහා එක්ව අනුබඩයි හෙවත් නදියහා එක්
ව පවත්නීයි; රුක්ඛමනුවිජ්ජෝතතෙ විජ්ජු, විදුලිය වෘ
ක්ෂය ලක්ෂණකොටගෙණ බබලා; සාධු දෙවදත්තො
මාතරමනු, දෙවදත්තතෙම මවකෙරෙහි සාධුත්වයට පැ
මිනියේයි; යදෙත්ථ මං අනු සියා නං දීයතු, මෙහි යමෙක්
මා නිසා තබනලදද මාගේ කොඨාසයයි සේයි ඒ කොට
ස දෙනුලැබේවා; රුක්ඛං රුක්ඛං අනුවිජ්ජෝතතෙ ච
න්‍දෝ, චන්‍ද්‍රතෙම වෘක්ෂයෙක්හි වෘක්ෂයෙක්හි බබලා හෙව
ත් වෘක්ෂයක් වෘක්ෂයක් පාසා බබලා-ආදි ශබ්දයෙන් අ
නුකම්පා, අනුග්‍රහ යන මේආදි ගතයුතු.

පරිති සමන්තතොභාව පරිච්ඡෙද වජ්ජනාලිඞ්ගන නි
වසන පූජා භොජනාවජානන දොසක්ඛාන ලක්ඛනාදි
සු—පරි යන මේ උපසර්ගයතෙම; හාත්පසින්වීමය, පිරි
සිඳීමය, දුරුකිරීමය, වැලඳගැන්මය, හැඳීමය, පිදීමය,
වැළඳීමය, අවඥය, දොෂකීමය, ලක්ෂණය—ආදි ශ
බ්දයෙන් තෘප්තිය, වනපතිය, ශොකය යනාදෘශ්‍යීයන් කෙ
රෙහි වැටේ—හේ මෙසේයි—පරිවුතො, හාත්පසින් පි
රිවරණලදී; පරිච්ඡෙදය්‍යං, පිරිසිඳ දතයුතුවූයේයි; පරි
හරති, වලහා යේ හෙවත් දුරුකෙරේ; පරිසජති, වැ
ලඳගණී; වත්ථං පරිදහෙස්සති, වස්ත්‍රය හඳී; පරිචරියා,
අත්පා මෙහෙකිරීම්ආදි වශයෙන් පූජාකිරීමයි; භික්ඛුං පරි
විසති, භික්ෂූනු වළඳවා; පරිභවති, අවඥකෙරේ; පරි
භාසති, දොෂ ප්‍රකාශකෙරේ; රුක්ඛං පරිවිජ්ජෝතතෙ
විජ්ජු, විදුලියතොමෝ වෘක්ෂය ලක්ෂණකොටගෙණ බ
බලා—ආදි ශබ්දයෙන් සාධු දෙවදත්තො මාතරං පරි;
යදෙත්ථ මං පරි සියා තංදීයතු, රුක්ඛා පරිවිජ්ජෝත තෙ
චන්‍දෝ යන මේආදි ගතයුතු.

අධීති අධිකිස්සරූපරිභාවාධිභවනජ්ඣායනාධිට්ඨානනිච්ඡයපාපුණනාදිසු—අධි යන මේ උපසර්ගයතෙම; අධිකාර්ථය, ඊශ්වරාර්ථය, මත්තෙහිවීමය, මැඩපැවතීමය, හැදෑරීමය, ඉටීමය, සනිටුහන්කිරීමය, පැමිණීමය—ආදි ශබ්දයෙන් වෙසෙසීමය යන මේ අර්ථයන් කෙරෙහි වැටේ-මෙසේයි-අධිසීලං, අධිකවූ සීලයයි; අධිපති, ඊශ්වරයි; අධි බ්‍රහ්මදත්තෙ පඤ්චාලා, පඤ්චාල ජනපදවාසීහු බ්‍රහ්මදත්තයා ඊශ්වරකොට ඇත්තානුයි; අධිරෝහති, මත්තට නැගේ; පඨවිං අධිසෙස්සති, පෘථිවියගේ මත්තෙහි හොවී; අධිභවති, මැඩපවත්වා; අධීතෙ, හදාරා; අධිට්ඨාති ඉටා; අධිමොක්ඛො, නිශ්චයයි; අධිගච්ඡති, පැමිණේ-ආදි ශබ්දයෙන් අධිකරෝති යනාදී ගතයුතු.

අභීත්‍යභිමුඛභාව විසිට්ඨාධිකුද්ධකම්ම කුල සොරූප්ප වන්දන ලක්ඛණිත්ථම්භූතක්ඛානවිච්ඡාදීසු—අභි යන මේ උපසර්ගයතෙම; ඉදිරිය, විශිෂ්ටාර්ථය, අධිකාර්ථය, ඌර්ධ්වක්‍රියාය, කුලය, සුරූපය, වැඳීමය, ලක්ෂණය, ඉත්ථම්භූතයාගේ කීමය, ව්‍යාප්තෙච්ඡාය—ආදි ශබ්දයෙන් වෘද්ධිය, අසන්නය, පූජාය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—මෙසේයි—අභිමුඛො, ඉදිරියයි; අභික්කමති, ඉදිරිවයේ; අභිධම්මො, විශිෂ්ටවූ ධර්මයයි; අභිවස්සති, අධිකව වසී; අභිරූහති, උඩට නැගේ; අභිජාතො, මනාකුලෙහි උපන්නෙයි; අභිරූපො, සුන්දරවූ රූ ඇත්තේයි; අභිවාදෙති, වඳී—මෙහි ඉත්ථම්භූතාදීහු පෙරසේමැයි-ආදි ශබ්දයෙන් අභිධාන, අභිධෙය්‍ය යනාදීහු ගතයුතු.

පතීති පතිගත පටිලොම පටිනිධි පතිදාන නිසෙධ නිවත්තන සාදිස්ස පතිකරණාදාන පතිබොධපටිච්චලක්ඛණිත්ථම්භූතක්ඛානභාගවිච්ඡාදිසු-පති යන මේ උපසර්ගයතෙම; පතිගතය, පටිලොමය, මුඛ්‍ය සදෘශය, ප්‍රතිදානය, ප්‍රතිෂෙධය, නැවතීමය, සදෘශභාවය, ප්‍රතික්‍රියාය, ගැන්මය, අවගමනය, නිසිමය, ලක්ඛනය, ඉත්ථම්භූතයාගේ කථනය, කොට්ඨාසය, විප්සාය—ආදි ශබ්දයෙන් විරුද්ධය, ආදරකිරීමය, පිණීසය, පශ්චිමක්‍රියාය, අභිමුඛය,

ගමනය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි—පච්චක්ඛං, චක්ඛුරාදි ඉන්ද්‍රියයන් නිසා පවත්නා ඥාණයයි; පටිසොතං, ගඞාවගේ ඉහලයි; ආචරියතොපතිසිස්සො, ශිෂ්‍යතෙම ආචාර්‍ය්‍යයාහා සදෘශයි; තෙලප්පි ඛනං පතිදදති, තෙලාර්ථීපුරුෂතෙම ගිතෙල මතුබලා * දේ; පටිසෙධො, වලකා; පටික්කමති, නවත්නේයි; පතිකාරෙ, පිළියමයි; පතිගණ්හාති, පිළිගණී; පටිවෙධො, ප්‍රතිවෙධ කිරීමයි; පච්චයො, හෙතුයි, ආශ්‍රයකිරීමයි-ලක්ෂණාදිය පෙරසේමැයි-ආදි ශබ්දයෙන් පටිවිරති යන මේආදි ගත යුතු.

සු ඉති සොභන සුන්දරසම්මාසම්බුධ සුඛත්ථාදිසු—සු යන මේ උපසග්ගයතෙම; සුන්දරාර්ථය, මනාය, අවිපරීතාර්ථය, සම්පන්නාය, සුඛාර්ථය—ආදි ශබ්දයෙන් භාෂාර්ථය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි-සුගන්ධො, සොභන ගඳඇතෙත්යි; සුනතො, සුන්දරවූ කායගති ඇතෙත් නොහොත් නිර්වාණාභිමුඛව මනොගතියෙන් ගියේයි; සුභික්ඛං, සමෘධවූ භික්ෂාඇතෙත්යි; සුකරං, සුවසේ කටහැකි වනෙත්යි—ආදි ශබ්දයෙන් සුඛට්ටං යන මේආදි ගතයුතු.

ආ ඉත්‍යභිමුඛභාවුඩකම්ම මරියාදාභිවිධි පත්තිචජා පරිස්සජනාදිකම්මගහණ නිවාස සමීපවිහානාදිසු—ආ යන මේ උපසග්ගයතෙම; අභිමුඛවීමය, උද්ධකම්මය, ඉම හැර ගැන්මය, හිමහා එක්කොටගැන්මය, ප්‍රාප්තිය, කැමතිවීමය, වැලඳගැන්මය, ආරම්භය, ග්‍රහණය, ස්ථානය, ආසන්නාය, කැඳවීමය—ආදි ශබ්දයෙන් බන්ධනය, දුක්ඛය, ඊෂදර්ථය, නිවෘත්තිය, අප්‍රසාදය, ආසිංසනය, ස්මරණය, පිහිටීමය, විස්මය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි-ආගච්ඡති, අභිමුඛව ඒ; ආරොහති, උඩට නැගේ; ආපබ්බතාඛෙත්තං, පබ්බතය දක්වා ක්ෂෙත්‍රයයි; ආකුමාරං යසො කච්චායනස්ස, කාත්‍යායන ස්ථවිරයාගේ යසස කුමාර භික්ෂූන් දක්වා පවත්නේයි; ආපත්තිමාපන්නො, ආපත්තියට පැමිණියේයි; ආකඞ්ඛා, කැමති

* නැවත.

ඵමයි; අලිඛනනං, වැලඳගැන්මයි; ආරම්භො, පටන්ගැ
න්මයි; ආදියති, ගණී; ආලබති, විශෙෂයෙන් ගණී; ආවස
ථො, නිවාසස්ථානයයි; ආසන්නං, සමීපයයි; ආමන්තෙ
ති, කැඳවා-ආදි ශබ්දයෙන්, අවජරිය, ආලොක, ආවි
ල යන මේආදි ගතයුතු.

අතිත්‍යතික්කමනාතික්කන්තාතිසය භුසත්ථාදිසු—අති
යන මේ උපසර්ගයතෙම; ඉක්මීම්ය, අතික්‍රාන්තය, අ
තිසය, භෘශාර්ථය-ආදි ශබ්දයෙන් අනතික්‍රාන්තභාවය, පූජාය,
අතිතය, ප්‍රසංසාය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—යේ
මෙසේයි-අතිකුසලො, සෙසසන්ට වඩා අතිසයින් දක්ෂ
යි; අතිකොධො, දැඩිවූ ක්‍රොධයයි; අතිවුෂ්ටි, ඉතා වර්ෂා
වයි-ආදි ශබ්දයෙන් අතිහරිත්වා, අතිරිත්තං, අතිදෙවො
යනා මේ ආදීනු ගතයුතු.

අපිති සම්භාවනාපෙක්ඛා සමුච්චය ගරහ පඤ්හාදිසු-
අපි යන මේ උපසර්ගයතෙම; සම්භාවනාය, අන්‍යයක්හු
ගේ අපෙක්ෂාකිරීමය, සම්පිණ්ඩනය, නින්දාය, ප්‍රශ්නය-
ආදි ශබ්දයෙන් පිධානය, ආසංසාර්ථය යනාද්‍යර්ථයන්
කෙරෙහි වැටේ—යේ මෙසේයි-අපිදිබ්බෙසු කාමෙසු,
දිව්‍යපඤ්චකාමයෙහි පවා; රතිං සොනාධිගච්ඡති යනු හා
සම්බන්ධයි; මෙරුම්පි විනිවිජ්ඣිත්වා ගච්ඡති, මෙරුප
ර්වතය පවා විනිවිද යනෙන්යි; අයම්පි ධම්මො අනිය
තො, මේ ධර්මයද අනියතයි; ඉතිපි අරහං, මේ කාර
ණයෙනුදු අර්හත්නම් වේ; මේ ඉති ශබ්දය කාරණයෙන්
කියනලද, අපි ශබ්දය අනික් කාරණය සමුච්චයකරණු
ලදි, එහෙයින් ආරකත්තාව අරීනං, අරානං හතත්තාව,
පාපකරණෙ රහාභාවාච, පච්චයාදීනමරහත්තාව අර
හං යි යොදනු—අන්තම්පි අන්තගුණම්පි ආදාය, අතුතුද
අතුතුඹහන්ද ගෙණ; නික්ඛමති යනු හා සම්බන්ධයි; නි
න්දායෙහි, අම්හාකං අපි පණ්ඩිතක, තොද අපට පණ්ඩිත
යෙහිය; ප්‍රශ්නයෙහි, අපිභන්තෙ භික්ඛං ලභිත්ථ, වහන්
ස භික්ෂා ලද්දද-ආදි ශබ්දයෙන් අපිධානය යන මේ ආදීනු
ගතයුතු.

අප ඉත්‍යපගතගරහ වජ්ජන පූජාපද්‍දුසසනාදිසු—අප

යන මේ උපසර්ගයතෙම: අපගතාර්ථය, ගර්හාය, දුරුකිරී මය, පූජාය, අප්‍රීතිය—ආදී ශබ්දයෙන් වැලකීමය, නින්දා භය, චෞරකර්මය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි-අපගතාර්ථයෙහි-අපමානො, පහවූ මානාඇ ත්තේයි; අපෙතො, පහවී; නින්දායෙහි, අපගබ්භො, නින්දා වූ ගර්භසෙය්‍යා ඇත්තේයි හෙවත් නපුරුවූ පිළිසඳඇ ත්තේයි; නොහොත්, අපගබ්භො, ශ්‍රමණ භවත් ගෞත මතෙම විගතවූ ගර්භසෙය්‍යා ඇතිහෙයින් පුනර්භවාභි නිර්වෘත්තියක් නැත්තානුයි අපගර්භනම් වේ; වර්ජනයෙ හි, අපසාලාය ආයන්ති වාණිජා, වෙළඳනු සාලාව හැර යෙත්; පූජායෙහි, වුඩ්ඪාපචායී, මහල්ලන්ට පුදන සුලුයි නොහොත් වෘඬයන්ට වඳනා සුලුස්; අප්‍රීතියෙහි, අපර ජ්ඣති, අප්‍රීතිවේ හෙවත් අපරාධකෙරේ, සිත සැළඹව යි සේයි-ආදී ශබ්දයෙන් අපවදති, ව්‍යපදිසති මේ ආදී ගතයුතු.

උප ඉත්‍යුපගමන සමීප්‍රපත්ති සාදිස්‍යාධිකුපරිභාවා නසන දෙසක්ඛාන සඤ්ඤ දුබ්බ කම්මපූජා ගෙහාකාර භූෂණාදීසු—උප යන මේ උපසර්ගයතෙම; සමීපගමනය, ආසන්නය, ප්‍රාප්තිය නොහොත් යුක්තිය, සදෘශබව, අ ධිකය, මනොතර්ජීමය, නොකෑමය, දෙෂකීමය, සංඥාය, පූර්ව ක්‍රියාය, පිදීමය, විනාතය විසින් ගතයුතු ආකාරය, භූ ෂාර්ථය, යනාද්‍යර්ථයන් කෙරෙහි වැටේ—හේ මෙසේයි- උපගමනයෙහි, නිසින්නංවා උපනිසීදෙය්‍ය, හුන් භික්ෂුනු කරා ළඟවා හිඳිනව් හෝ; සමීපයෙහි, උපනගරං, නුව ර සමීපයයි; උත්පත්තියෙහි, සග්ගං ලොකං උපපජ්ජති, ස්වර්ගලොකයෙහි උපදී නොහොත් යුක්තායි—එහි උදාහ රණ මෙසේයි-උපපත්තිතො, යුක්ති හෙයින්; ඉනබත්තිනි, බලානුයි හෙවත් අරමුණු අනුභවකෙරෙණුයි; උපෙ නබා, උපෙක්ෂානමු; සදෘශයෙහි, උපමානං, සදෘශයි; අ ධිකාර්ථයෙහි, උපඛාරියං දෙණෙ, තිඛෙක්ඛාරියව අධි කයි; උපරිභාවයෙහි, උපසම්පන්නො, සාමණේර භාව යෙන් මත්තට පැමිනියේයි; නොකෑමෙහි, උපවාසො, ලඞ්ඝනායයි හෙවත් නොවැලදීමයි; දෙෂප්‍රකාශයෙහි, උ

පවදති, දෙසයන්තියා; සාඥයෙහි-උපධා, සංඥායි; උපසග්ගො, ප පරාදි උපසග්ග සංඥායි-පූර්‍වක්‍රියායෙහි; උපක්කමො, ප්‍රාණාතිපාත ව්‍යතික්‍රම නිමිත්තවූ පූර්‍ව ප්‍රයොගයයි; උපකාරෙ, පළමුකොට වැඩකිරීමයි-පූජායෙහි, බුද්ධුපට්ඨානො, බුදුන් පූජාකරනෙනැයි; මාතුපට්ඨානං, මවුන්ට පූජාකිරීමයි; චිත්තයා විසින් ගතයුතු ආකාරයෙහි, සොචෙය්‍ය පච්චුපට්ඨානං, සුචිභාවයෙන් වැටහීමයි; භාගාර්ථයෙහි, උපාදානං, දැඩිකොට ගැන්මයි; උපායාසො, බලවත් ආයාසයයි; උපනිස්සයො, බලවත් ආශ්‍රයයි—ආදි ශබ්දයෙන්, උපරමති, උපධාරෙති යන මේආදි ගතයුතු.

දැන් සචෙතන ප්‍රාදීන්ගේ සාමාන්‍ය විශෙෂාර්ථොදහරණයකොට අනන්තරයෙන් පදසිද්ධි ක්‍රම දක්වනුලැබේ—ඒ ප්‍රාදීන්ගේ නාමාඛ්‍යාතයන් දෙන්නා විශෙෂ කරණභාවය හෙතුකොටගෙණ "පරසමඤ්ඤාපයොගෙ" යන සූත්‍රයෙන් ලිඟු සංඥා කරණලද කල්හි ස්‍යාදි විභක්ති වේ-ප්‍රාපණති වත්තමානෙ-මෙහි "සෙසතො ලොපං ගසිපි" යනෙනාත් ලොපං යනු වැටෙනලද කල්හි "සබ්බා සමාවුපසාපසග්ග නිපාතාදීහිච" මේ විධිසූත්‍රයෙන් ආවුසො ශබ්දයා කෙරෙන්ද උපසග්ග නිපාතයන් කෙරෙන්ද පරවූ සියලු විභක්තීන්ට ලොප්වෙයි, මෙහිම ආදි ශබ්දයෙන් සමහර විවක්ෂිත ස්ථානයෙක්හි සූත්‍ර පදාදීන් කෙරෙන් පරවූ විභක්තීන්ටද ලොප්වේ—ආදි ශබ්දයෙන් ගැළපා පදයන් ගත්තු—භද්දන්ත භන්තෙ යනු උදහරණයි-මේ ගොලොපය සූත්‍රයෙහි ආදි ශබ්දයෙන්ම වේ-මේ සූත්‍රයෙන්ද ආවුසො යන මොහුගේ වෙනම ගැන්ම, කිං ආවුසො තුම්හෙ ආවුසො යී, මෙසේ එකත්ව බහුත්ව සංඛ්‍යාසහිතබව හැඟවීම ප්‍රයොජනකොට ඇත්තෙයි-මේ සූත්‍රයෙහි චකාර "ආහො" යනාදි සූත්‍රයෙහිමෙන් අවධාරණය පිණිසයි........ප, පරා, නි, නී, උ, දු, සං, වි, අව, අනු, පරි, අධි, අභි, පති, සු, ආ, අති, අපි, උප යනු මෙසේ සිඛව විසති ප්‍රාදිහු ප්‍රකෘතියෙන්ම සිටිතියි දතයුතු.

---

ච ඉති සමුච්චයාන්වාචයෙතරේතරයොග සමාහාරාවධාරණාදිසු—ච යන මේ නෛපාතික පදයතෙම; රැස්කිරීමය, අප්‍රධාන බවය, පදවයක් ඔවුනොවුන් හා යෙදීමය, එක්වූ බවය, නිශ්චය—ආදි ශබ්දයෙන් වාක්‍යොපන්‍යාසය යනාද්‍යර්ථයන් කෙරෙති වැටේ.

වා ඉති විකප්පූපමාන සමුච්චය වවත්ථිත විභාසාසු—වා යන මේ නෛපාතික ශබ්දයතෙම; විකල්පය, උපමාය, රැස්කිරීමය, ව්‍යවස්ථිත විභාසාය, චකාරයෙන් සන්දේහය, පදපූරණය යන මේ අර්ථයන් කෙරෙති වැටේ.

න, නො, මා, අලං, හලං, නහි, ඉච්චෙතෙ පටිසෙධනත්ථෙ—න යන නිපාතය, නො යන නිපාතය, මා යන නිපාතය, අලං යන නිපාතය, හලං යන නිපාතය, නහි යන නිපාතය යන මොහු නිෂේධාර්ථයෙහි වැටෙත්.

අලං පරියත්ති භූසනෙසුච—අලං යන මේ නිපාත පදයතෙම; සාමර්ථ්‍යය, අලඞ්කාරය, ච ශබ්දයෙන් ශක්තිය, පරිපූර්ණ භාවය, වාරණය යන මෙතෙක් අර්ථයන් කෙරෙති වැටේ.

අථ ඉති පඤ්හානන්තරියාධිකාරාදිසු—අථ යන මේ නිපාත පදයතෙම; ප්‍රශ්නය, අනන්තරභාවය, ප්‍රස්ථාය, චකාරයෙන් පදපූරණය, මඞ්ගල්‍යය, පටන්ගැන්මය, සාකල්‍යය යන මෙතෙක් අර්ථයන් කෙරෙති වැටේ.

ඛලු ඉති පටිසෙධාවධාරණ පසිද්ධිසු—ඛලු යන මේ නිපාතපදයතෙම; නිෂේධය, නිශ්චය, ප්‍රසිද්ධිය, චකාරයෙන් වාක්‍යාලඞ්කාරය, නැලවීමය, අනුමතිය යන මෙතෙක් අර්ථයන් කෙරෙති වැටේ.

වත ඉත්‍යෙකංසත්ථ ඛෙදානුකම්පා (සඞ්කප්පෙ) සුච—වත යන මේ නිපාතපදයතෙම; ඒකාන්තය, විෂාදය, අනුකම්පාය, සඞ්කල්පනාය, චකාරයෙන් සන්තෝෂය, විස්මය, ආමන්ත්‍රණය යන මෙතෙක් අර්ථයන් කෙරෙති වැටේ.

අථොත්‍යන්වාදෙසානන්තර පඤ්හෙසුච—අථො යන මේ නිපාතපදයතෙම; අනුකථනය, ඉක්බිතිය, ප්‍රශ්නය, චකාරයෙන් මඞ්ගල්‍යය, පටන්ගැන්මය යනාද්‍යර්ථයන් කෙරෙති වැටේ.

හි ඉති හෙත්වාවධාරණෙසුච—හි යන මේ නිපාත පදයතෙම, කාරණය, අවධාරණය, චකාරයෙන් විශෙෂාර්ථය, පදපූරණය යන මෙතෙක් අර්ථයන් කෙරෙහි වැටෙ.

තු ඉති විසෙස හෙතුනිවත්තනාදිසුච—තු යන මේ නිපාතපදයතෙම, විශෙෂය, හෙතුය, නිවර්තනය, ආදි ශබ්දයෙන් පදපූරණය, විකල්පය යනාද්‍යර්ථයන් කෙරෙහි වැටෙ.

පන ඉති විසෙසෙපි—පන යන නිපාත පදයතෙම, විශෙෂය, අපි ශබ්දයෙන් පදපූරණය යන මේ අර්ථයන්කෙරෙහි වැටෙ.

හවෙ වෙ ඉච්චෙතෙ'කංසත්ථෙපි—හවෙ වෙ යන නිපාතයෝ දෙදෙන ඒකාන්තාර්ථයෙහිද වැටෙත්.

හං විසාද සම්භමෙසුපි—හං යන මේ නිපාත පදයතෙම, ඛෙදය, සම්භ්‍රමය යන මේ අර්ථයන්කෙරෙහි වැටේ.

සෙය්‍යථීදන්ති තං කතමන්තාය්‍යෙත්ථෙපි—සෙය්‍යථීදං යන මේ නිපාත පදයතෙම, ගේ කෙසේද යන මේ පෘච්ඡාර්ථයෙහි වැටේ.

අත්ථි සක්කා ලබ්භා ඉච්චෙතෙ පඨමායං—ප්‍රථමා විභක්තියෙහි වැටෙනානාවූ, අත්ථි යන මේ නිපාතය, විද්‍යමානභාවයෙහිද, කාල සාමාන්‍යයෙහිද, සක්කා යන නිපාතය, පිළිවන යන අර්ථයෙහිද; ලබ්භා යන නිපාතය ලැබෙයි යනාද්‍යර්ථයන් කෙරෙහි වැටෙත්.

ආවුසො, අම්භො, හම්භො, අරෙ, රෙ, ජෙ, ඉච්චෙතෙ ආමන්තනෙ—ආමන්ත්‍රණයෙහි වැටෙනානාවූ ආවුසො යන මේ නිපාතය සමානයන්ගේ ආලපනයෙහිය—අම්භො හම්භො අරෙ රෙ යන මේ නිපාතයෝ හීනයන්ගේ ආලපනයෙහිය—ජෙ යන නිපාතය දසීන්ගේ ආලපනයෙහිද වැටෙති.

දිවා භිය්‍යො නමො ඉච්චෙතෙ පඨමා දුතියායච—ප්‍රථමා ද්විතීයා විභක්තිවූ, දිවා යන නිපාතය දවල්හිද, භිය්‍යො යන නිපාතය, නැවතය බොහෝය යන අර්ථයෙහිද, නමො යන නිපාතය නමස්කාරයෙහිද යන මේ අර්ථයන් කෙරෙහි වැටෙත්.

සයං, සාමං, සං, සම්මා, * කිනති ඉච්චෙතෙ තතියත්ථෙ—තෘතීයාර්ථයෙහි වැටෙනානාවූ, සයංය සාමංය සංය යන මේ නිපාතයන් තුන්දෙන තමා විසින් යනාර්ථයෙහිද, සම්මා යන මේ නිපාතය, ප්‍රශංසායෙන් යන අර්ථයෙහිද, කිනති යන මේ නිපාතපදය, කිසිවකින් යන අර්ථයෙහිද යන මෙතෙක් අර්ථයන් කෙරෙහි වැටෙත්.

සො තො ධාපච්චයන්තාච—පදසො යනාදියෙහි සො ප්‍රත්‍යයාන්තයාද, දුක්ඛතො යනාදියෙහි තො ප්‍රත්‍යයාන්තයාද, එකධා යනාදියෙහි ධා ප්‍රත්‍යයාන්තයාද යන මොහු තෘතීයාර්ථයෙහිම වැටේති දතයුතු.

තවෙතුං පච්චයන්තා චතුත්ථියා—කාතවෙ යනාදියෙහි තවෙ ප්‍රත්‍යයාන්තයාද, දාතුං යනාදියෙහි තුං ප්‍රත්‍යයාන්තයාද යන මොහු චතුර්ථ්‍යර්ථයෙහි වැටෙත්.

සො තොපච්චයන්තා පඤ්චම්‍යත්ථෙ—දීඝසො යනාදියෙහි සො ප්‍රත්‍යයාන්තයාද, රාජතො යනාදියෙහි තො ප්‍රත්‍යයාන්තයාද යන මොහු පඤ්චම්‍යර්ථයෙහි වැටෙත්.

තො සත්තම්‍යත්ථෙපි ත්‍රථාදිපච්චයන්තා ච—එකතො යනාදියෙහි තො ප්‍රත්‍යයාන්තයාද, යත්‍ර යත්ථ යනාදියෙහි ත්‍ර ථ ප්‍රත්‍යයාන්තයෝද-ආදි ශබ්දයෙන් යහිං, තහිං, කහං යනාදි ප්‍රත්‍යයාන්තයෝද සප්තම්‍යර්ථයෙහි වැටෙත්.

සමන්තා, සාමන්තා, පරිතො, අභිතො, සමන්තතො, එකජ්ඣං, එකමන්තං, හෙට්ඨා, උපරි, උද්ධං, අධො, තිරියං, සම්මුඛා, පරම්මුඛා, ආවි, රහො, තිරො, උච්චං, නීචං, අන්තො, අන්තරා, අන්තරං, අජ්ඣත්තං, බහිද්ධා, බාහිරා, බාහිරං, බහි, ඔරං, පාරං, ආරා, ආරකා, පච්ඡා, පුරෙ, හුරං, පෙච්ච, ඉච්චෙතෙ සත්තමියා—සප්තම්‍යර්ථයෙහි වැටෙනානාවූ සාමන්තා යන නිපාතය හාත්පස්හි හෙවත් හැමතැන්හිද, සමන්තා යන නිපාතය ආසන්නයෙහිද හෙවත් සමීපයෙහිද, පරිතො යන නිපාතය ඇතුළත්හිද නොහොත් හාත්පස්හිද, අභිතො යන නිපාතය, සමන්තතො යන නිපාතය හැමතැන්හිම යන අර්ථයෙහිද,

* සච්ච, හැම පොත්හි.

එකජ්ඣං යන නිපාතය එක්තැනෙක්හි යන අර්ථයෙනිද, එකමන්තං යන නිපාතය අනුරූපස්ථානයෙක්හි හෙවත් එකාන්තපස්හී යන අර්ථයෙහිද, හෙට්ඨා යන නිපාතය යටි යන අර්ථයෙහිද, උපරි යන නිපාතය මත්තෙහිද, උද්ධං යන නිපාතය උඩද, අධො යන නිපාතය යටද, තිරියං යන නිපාතය සරසද, සම්මුඛා යන නිපාතය අභිමුඛයෙහිද, පරම්මුඛා යන නිපාතය නොහමුයෙහිද, ආවි යන නිපාතය ප්‍රකාශයෙහිද, රහො යන නිපාතය රහස්හිද, තිරො යන නිපාතය ප්‍රච්ඡන්නයෙහිද, උච්චං යන නිපාතය උස්තන්හිද, නීචං යන නිපාතය මිටිතන්හිද, අන්තො යන නිපාතය අබ්‍යන්තරෙහිද, අන්තරා යන නිපාතය දෙකට මැද යන අර්ථයෙහිද, අන්තරං යන නිපාතය ඇතුළත්හිද, අජ්ඣත්තං යන නිපාතය ආධ්‍යාත්මිකයෙහිද, බහිද්ධා, බාහිරා, බාහිරං, බහි යන නිපාත සතර පිටත යන අර්ථයෙහිද, ඔරං යන නිපාතය මෑත්පසෙහිද, පාරං යන නිපාතය ඈත්පසෙහිද හෙවත් පරතෙරද, ආරා, ආරකා යන නිපාතවය දුරහා සමීපයෙහිද, පච්ඡා යන නිපාතය පසුව යන අර්ථයෙහිද, පුරෙ යන නිපාතය පෙරද, හුරං යන නිපාතය අන්‍යස්ථානයෙහිද නොහොත් හුරං පෙච්ච යන නිපාතවය පරලොව්හිද යන මෙතෙක් අර්ථයන් කෙරෙහි ක්‍රමයෙන් වැටෙත්.

සම්පති, ආයති, අජ්ජ, අපරජ්ජු, පරජ්ජු, සුවෙ, සෙව, උත්තරසුවෙ, හීයො, පුරෙ, * සජ්ජු, සායං, පාතො, කාලං, කල්ලං, දිවා, නත්තං, නිච්චං, සතතං, අභිණ්හං, අභික්ඛණං, මුහුං, මුහුත්තං, භූතපුබ්බං, පුරා, යදා, තදා, ඉච්චෙතෙ කාලසත්තමියා—කාල සත්තම්‍යර්ථයෙහි වැටෙනාවූ, සම්පති යන නිපාතය, දැන් යන අර්ථයෙහිද, ආයති යන නිපාතය, අනාගතකාලයෙහිද, අජ්ජ යන නිපාතය, අද දවස්හිද, අපරජ්ජු යන නිපාතය, පෙරවි දවස්හිද, පරජ්ජු යන නිපාතය, අනිද්‍ද දවස්හිද, සුවෙ සෙව යන නිපාතවය, සෙට දවස්හිද, උත්තරසුවෙ යන නිපාත

* පරෙ, හැම.

ය, අනිද්ද දවස්හිද, පුරෙ යන නිපාතය, අතීතයෙහිද හෙවත් පෙරවිදවස්හිද, සජ්ජු යන නිපාතය, එකෙණෙහිද, සායං යන නිපාතය, සවස්හිද; පාතො යන නිපාතය, උදසන්හිද, කාලං, කල්ලං යන නිපාතවය කාලයෙහිද, දිවා යන නිපාතය, දහවල්හිද, නත්තං යන නිපාතය, රාත්‍රියෙහිද, නිච්චංය සතතංය අභිණ්හංය යන නිපාතත්‍රය, එක්වන්හිද හෙවත් නිරන්තරයෙහිද, අභික්ඛණං යන නිපාතය, නිරන්තරයෙහිද නොහොත් ක්ෂණක්ෂණයෙහිද, මුහුංය මුහුත්තංය යන නිපාතවය, ඇසිල්ලෙක්හිද; භූතපුබ්බංය පුරාය යන නිපාතවය පූර්වයෙහිද, යදා යන නිපාතය යම්කලෙක්හිද, තදා යන නිපාතය එකල්හිද යන මෙනෙක් අර්ථයන් කෙරෙහි වැටෙත්.

අප්පෙව අප්පෙවනාම නු ඉච්චෙතෙ සංසයත්ථෙ—අප්පෙව, අප්පෙවනාම, නු යන නිපාතත්‍රය මෙසේදෝහෝ එසේදෝහොයි සංසයාර්ථයෙහි වැටෙත්.

අද්ධා අඤ්ඤදත්ථු තග්ඝ ජාතු කාමං සසක්කමිච්චෙතෙ එකංසත්ථෙ—අද්ධා, අඤ්ඤදත්ථු, තග්ඝ, ජාතු, කාමං, සසක්කං යන මේ නිපාතයෝ සදෙන එකාන්තයෙන් යන අර්ථයෙහි වැටෙත්.

එව ඉත්‍යවධාරණෙ—එව යන නිපාතයතෙම අවධාරණයෙහි වැටේ.

කච්චි නු නනු කථං කිංසු කිමිච්චෙතෙ පුච්ඡනත්ථෙ—කච්චි, නු, නනු, කථං, කිංසු, කිං යන නිපාතයෝ සදෙන පුළුවුස්මෙහි වැටෙත්.

එවං ඉති ඉත්ථං ඉච්චෙතෙ නිදස්සනෙ—එවං, ඉති, ඉත්ථං යන නිපාතත්‍රය නිදර්ශනයෙහි හෙවත් මෙසේය යන අර්ථයෙහි වැටෙත්.

ඉති හෙතු වාක්‍යපරිසමාත්තිසුච—ඉති යන නිපාතය කාරණයෙහිද, වාක්‍යයාගේ නිමවීමෙහිද; චකාරයෙන් අර්ථ විපර්‍යාසයෙහිද, නිදර්ශනයෙහිද, ආද්‍යර්ථයෙහිද, ප්‍රකාරාර්ථයෙහිද, අවධාරණයෙහිද, ප්‍රත්‍යක්ෂයෙහිද, සන්නිධියෙහිද යන මෙතෙක් අර්ථයෙහි වැටේ.

යාව තාව යාවතා තාවතා කිත්තාවතා එත්තාවතා කීව

ඉච්චේතෙ පරිච්ඡෙදනත්ථේ—යාව, තාව, යාවතා, තාවතා, කිත්තාවතා, එත්තාවතා, කීව යන මේ නිපාතයෝ සත්දෙන කාලාදීන්ගේ නියමිතාර්ථයෙහි වැටෙත්; එහි යාව යාවතා යනු යම්පමණෙක් යන අර්ථයි; තාව තාවතා යනු මෙ පමණෙක් යන අර්ථයි.

එවං සාහු ලහු ඔපායිකං පතිරූපං ආම සාධු සම්පටිච්ඡනත්ථේ—එවං, සාහු, ලහු, ඔපායිකං, පතිරූපං, ආම, සාධු යන මේ සත්දෙන උක්තයාගේ වචනයෙන් ප්‍රතිග්‍රහණාර්ථයෙහි වැටෙත්-මෙහි එවං යනු එසේය යනාර්ථයි, සාහු යනු මැනව යනාර්ථයි, ලහු යනු නොබර්ය යනාඅර්ථයි, ඔපායිකං යනු තොපගේ අන්තෙවාසික සද්ධිවිහාරකත්වය උපායෙන් යුක්තය යන අර්ථයි, පතිරූපං යනු සුදුසුය යන අර්ථයි, ආම යනු එසේය යන අර්ථයි, සාධු යනු මැනව යන අර්ථයි.

යථා තථා යථෙව තථෙව එවං එවමෙව එවමෙවං එවම්පි යථාපි සෙය්‍යථාපි සෙය්‍යථාපිනාම විය ඉව යථරිව තථරිව යථානාම යථාහි යථාච ඉච්චෙතෙ පටිභාගත්ථේ- යථා යනාන ආදිවූ යථාච යනාන අන්තකොට ඇති නිපාතයෝ අටළොස්දෙන සදෘශාර්ථයෙහි වැටෙත්-මෙහි යථා යථෙව යථාපි සෙය්‍යථාපි සෙය්‍යථාපිනාම යන මොනු යම්සේ යන අර්ථයි-තථා තථෙව එවං එවමෙවං යන මොනු එසේමැයි යන අර්ථයි-විය ඉව යනු, මෙන් යන අර්ථයි-යථරිව යනු යම්සේද යනාර්ථයි-තථරිව යනු එසේය යන අර්ථයි-යථානාම යනු යම්යම්සේනම් යන අර්ථයි.

යථා ඉති යොග්‍යතා විච්ඡා පදත්ථානතිවත්ති නිදස්සනෙසුච—යථා යන නිපාතයතෙම යොග්‍යබ්වෙහිද ව්‍යාපනෙච්ඡායෙහිද පදාර්ථයාගේ නොඉක්මීමෙහිද දැක්වීමෙහිද යන මෙතෙක් අර්ථයන්හි වැටේ.

එවං ඉත්‍යුපදෙස පඤ්හාවධාරණිදමත්ථ නිදස්සනාකාර සම්පහංසනූපමාන පරිමාණ්ණේසුච—එවං යන මේ නිපාතයතෙම; උපදෙසය හෙවත් ඉගැන්වීමය, ප්‍රශ්නය, නියමය, ඉදං ශබ්දයාගේ අර්ථය, නිදර්ශනය, ආකාරය, සම්ප්‍ර,

කීර්ණය, උපමාය, ප්‍රමාණය, ආදි ශබ්දයෙන් වචන ප්‍රතිග්‍රහණය, නින්දාය යන මෙතෙක් අර්ථයෙහි වැටේ.

කිඤ්චාපීත්‍යනුග්‍රහාර්ථෙ—කිඤ්චාපි යන මේ නිපාතය තෙම; සම්භාවනාර්ථයෙහි වැටේ.

අහො ඉති ගර්හ පසංසන පත්ථනෙසුව—අහො යන මේ නිපාතයතෙම; නින්දාය, ප්‍රසංසාය, ප්‍රාර්ථනාය යන මෙතෙක් අර්ථයෙහි වැටේ.

නාමෙති ගරහ පසංසන සඤ්ඤ පඤ්හෙසු—නාම යන නිපාතයතෙම; ගර්හාය, ප්‍රශංසාය, සංඥාය, ප්‍රශ්නය යන මේ අර්ථයන් කෙරෙහි වැටේ.

සාධු පසංසනයාචනෙසුව—සාධු යන නිපාතය; ප්‍රසංසා යාච්ඤා දෙක්හි වැටේ.

ඉඞ්ඝ හන්ද ඉච්චෙතෙ චොදනත්ථෙ—ඉඞ්ඝ හන්ද යන නිපාතවය චොදනාර්ථයෙහි වැටෙත්-චොදනානම්, වචන සඤ්චාලනයයි.

සාධු සුට්ඨු එවමෙතං ඉත්‍යනුමොදනෙ—සාධු සුට්ඨු එවමෙතං යන නිපාතත්‍රය අනුමොදනයෙහි වැටෙත්-අනුමොදනනම්, සන්තොෂයෙන් පිළිගැන්මයි.

කිර ඉත්‍යනුස්සවනාසම්භාවනෙසුව—කිර යන මේ නිපාතයතෙම; අනුශ්‍රවණයෙහිද, නොහැදහිය යුතුතැනී ද වැටේ.

නූන ඉත්‍යනුමානානුස්සරණ පරිවිතක්කනත්ථෙසු—නූන යන මේ නිපාතයතෙම; අනුමානයෙහිද, අනුස්මරණයෙහිද, පරිවිතර්කයෙහිද වැටේ-මෙහි අනුමානනම් ඵල සන්දර්ශනයෙන් කාරණයාගේ අස්තිභාව සම්භාවනා වශයෙන් අනුවගොස් උපපරීක්ෂාකොට දැන්මයි.

තස්මාති කාරණ ප්‍රවචනෙ—තස්මා යන නිපාතයතෙම කාරණ පිළිවිසීමෙහි වැටේ.

යස්මා තස්මා තථාහි තෙන ඉච්චෙතෙ කාරණාවච්ඡෙදනත්ථෙ—යස්මා, තස්මා, තථාහි, තෙන යන මේ නිපාතයෝ සතරදෙන කාරණයාගේ දර්ශනයෙන් පිරිසිඳීම් අර්ථයෙහි වැටෙත්.

සහ සද්ධිං අමා ඉති සමක්‍රියායං—සහ, සද්ධිං, අමා යන නිපාතත්‍රය, සමක්‍රියාවෙහි වැටේ.

විනා රිතෙ'ති විප්පයොගෙ—විනා, රිතෙ යන නිපාත යන් දෙනාන විප්‍රයොගයෙහි වැටෙත්.

නානා පුථු බහුප්පකාරෙ—නානා පුථු යන නිපාතයෝ දෙදෙන බහුප්‍රකාරයෙහි වැටෙත්.

පුථු විසුං අසඞ්ඛාතෙව—පුථු, විසුං යන නිපාතයෝ දෙදෙන සමූහනොවීමෙහි වැටෙත්-මෙහි වකාර පුථුය ශානානුගේ බහුප්‍රකාර සමුච්චය කෙරේ.

දුශු කු කුච්ඡායං—දුශු කු යන නිපාතයෝ දෙදෙන කුත්සිතාර්ථයෙහි වැටෙත්.

පුන අප්පඨමෙ—පුන යන නිපාතය අප්‍රථමාර්ථයෙහි වැටේ.

කච්චි පුච්ඡනෙ—කච්චි යන නිපාතය පෘච්ඡාර්ථයෙහි වැටේ.

ධා ක්ඛත්තුං සකිං සඞ්ඛ්‍යා විභාගෙ—ධා, ක්ඛත්තුං, යන නිපාත ප්‍රත්‍යයාන්තයන් හා සකිං යන තුන්දෙන ගණන පරිච්ඡෙදයෙහි වැටෙත්.

ඊසකං අප්පමත්තෙසු—ඊසකං යන නිපාතය අල්පාර්ථයෙහිද මන්දාර්ථයෙහිද වැටේ.

සනිකං මන්දත්ථෙ—සනිකං යන නිපාතය මන්දාර්ථයෙහි වැටේ.

ඛිප්පං අරං ලහු ආසු තුණ්ණං අචිරං සීඝත්ථෙ—ඛිප්පං, අරං, ලහු, ආසු, තුණ්ණං, අචිරං යන නිපාතයෝ සදෙන ශීඝ්‍රාර්ථයෙහි වැටෙත්.

චිරං චිරස්සං දීඝකාලෙ—චිරං චිරස්සං යන නිපාතද්වය දීර්ඝකාලයෙහි වැටෙත්.

චෙ යදි සඞ්කාවට්ඨානෙ—චෙ යදි යන නිපාතද්වය සඞ්කා පිහිටාගැන්මෙහි වැටෙත්.

ධුවං ථිරාවධාරණෙසු—ධුවං යන නිපාතය ස්ථිරයෙහිද අවධාරණයෙහිද හෙවත් ඒකාන්තයෙන් යන අර්ථයෙහිද වැටේ.

හා විසාදෙ—හා යන නිපාතය ඛේදයෙහි වැටේ

තුණ්හී අභාසනෙ—තුණ්හී යන නිපාතය නොබිණීමෙහි වැටේ.

සච්ඡ පච්චක්ඛෙ—සච්ඡ යන නිපාතය ප්‍රත්‍යක්ෂයෙහි වැටේ.

මුසා මිච්ඡා අලිකමසච්චෙ—මුසාය මිච්ඡාය අලිකංය යන නිපාතත්‍රය අසත්‍යයෙහි වැටෙත්.

සුවත්ථි ආසිංසෙ—සුවත්ථි යන නිපාතය ආසිංසනාර්ථයෙහි වැටේ-මේආදි නිපාතපදයන් යෙදියයුතු.

තුන ත්වාන ත්වාපච්චයන්තා උස්සුක්කනත්ථ භවන්ති—තුන, ත්වාන ත්වාප්‍රත්‍යයාන්ත නිපාතයෝ උත්සාහයෙන් යුක්ත අර්ථයෙහි වැටෙත්—යම් පදයක් එක් පදයකින් නොනිමා අනික් පදයක් අපෙක්ෂාකෙරේද, ඒ පදය උස්සුක්කන නම්වේ-මෙහි පස්සිතුන යනාදි නිපාතයන් ගච්ඡති යනාදි අන්‍ය ක්‍රියාවක් අපෙක්ෂාකරණහෙයින් පස්සිතුන යනාදී නිපාතයෝ උස්සුක්කනාර්ථයෙහි වෙත්-එහි උදාහරණ මෙසේයි.

පස්සිතුන, පස්සිය, පස්සිත්වා, දිස්වා, දිස්වාන යන මේ නිපාතයෝ පස්දෙන දැක යනාර්ථයෙහි වැටෙත්.

දස්සෙත්වා, දක්වා—ඤාණං දත්වාන-දත්වා, දී; උපාදාය, ගෙණ; ඤපෙත්වා, දෙවා; විඤ්ඤාය, දැන; විචෙය්‍ය, පරීක්ෂාකොට හෙවත් තෝරා; විනෙය්‍ය, හික්මවා නොහොත් සන්සිඳුවා; නිහච්ච, නසා; සමෙච්ච, එක්ව හෙවත් එක්කොට; උපෙච්ච, එළඹ; ආරබ්භ, පටන්ගෙණ හෙවත් අරභයා; ආගම්ම, අවුත්-මේආදී නිපාතයෝද ගච්ඡති යනාදි ක්‍රියාවෙක් අපෙක්ෂාකරණ හෙයින් උස්සුක්කනයෙහි නිපාතයෝයි-මෙසේ නාමාඛ්‍යාතොපසර්ග යන මේ පදත්‍රයෙන් විනිර්මුක්තාවූ යම් පදයෙක් ඇද්ද ඒ පදය නිපාත පදයයි දතයුතු.

නිමි.

